සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2563 ක් වූ ඉල් මස (ව්‍යවහාරික වර්ෂ 2019 නොවැම්බර්)

99 වෙනි කලාපය

## සාසනික දෑ වැරදියට පරිහරණය කිරීමේ

# බරපතලකම




රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය











# තමාට පිහිට තමාමය

තමා හට තමාමය පිළිසරණ යන
යොමා සිත බුදුන් වදහළ දහම ගැන
අමා මහ නිවන මග ඵල පෙරටු වන
පමා නොව ලබනු පිණිසම වඩනු පින

මව් පිය ගුරුවරුද නෑසියො මිතුරො යන
කව් රුද භව දුකට සත හට පිහිට වන
සව් සත සිත නිවන සැනසුම සුවය දෙන
දෙව් බඹ නර සැමට සරණයි මුනිඳු බණ

මනා කොට දැමුන පිළිවෙත් ගරු කරන
තමා හට තමාමය දැන පිළි සරණ
විනාසෙට මුලය කම් සැප බව හැඳින
අපායට වැටෙන මග අහුරති සුදන

සෙල් වෙන සිත නිතින් එක තැන් කිරීමෙන්
ඇල් මෙන අදිටනින් දැහැමින් විසීමෙන්
සිල් ගුණ පිරීමෙන් විදසුන් වැඩීමෙන්
දැල් වෙන නැණ පහන් කෙලෙසුන් නැසීමෙන්

දහමකි බුදු සමිඳු දෙසු පෙර නොඇසු විරු
පිහිටකි එය සතට සසරෙහි වසන තුරු
කරුණකි බොදුනු සැම දතයුතු නොවන බොරු
වරදකි පිළි පදිනු බැරි මෙම දහම ගරු

තනියම සැරි සරන එහෙ මෙහෙ දුවන සිත
නැවතුම එක තැනක බැලුවම ලෙහෙසි නැත
ඇරඹුම බවුන් වැඩුමයි ඇවැසි පිළි වෙත
විසඳුම එයයි සැලසෙන සතට සුව සෙත

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා













# පොතපතින් ඔබ්බට...

## 05 කොටස

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන්, හෙළ බොදු පියුම දහම් සඟරාවට විවිධ මාතෘකා ඔස්සේ කරුණු ලබාගැනීමේදී, ප්‍රධාන කාරණාවලට අමතරව තවත් කුඩා අතුරු කාරණා ඔස්සේ යොමු කළ ගැටළුවලට උන්වහන්සේ විසින් අතිරේක වශයෙන් ලබාදුන් වටිනා කෙටි පිළිතුරු සියලු පින්වතුන්ගේ මෙළොව පරලොව නිවන් අභිවෘද්ධිය උදෙසා මේ විදිහට සටහන් කරනවා.

### කයේ වෙහෙස මහන්සිය, නිදිමත දුරු කර ගෙන සැහැල්ලුවෙන් ප්‍රබෝධයෙන් වැඩ කටයුතු කරගන්න සාර්ථක ක්‍රමයක්

අද සමාජයේ තියෙන කාර්ය බහුලත්වය නිසා මනුස්සයින්ට වැඩ කරන්න සිද්ධ වෙලා තියෙන්නෙ බොහොම කායික වෙහෙස මහන්සිය සහ මානසික ආතතිය යටතේ. ගිහි පැවිදි, ළමා තරුණ, වැඩිහිටි මහලු භේදයකින් තොරව අද ඒ වගේ තත්ත්වයක් තමයි බොහෝ කොටම දකින්න තියෙන්නෙ. මේ තත්ත්වය යටතේ මනුස්සයෙක්ගෙ එදිනෙදා වැඩ කටයුතු ටික ඉවර කරගන්න දවසත් මදි වෙලා තියෙනවා. උදේ ඉඳන් රෑ වෙනකල් වැඩ කළාම ඉන්පසු එළඹෙන පැය පහක හයක කාලය ඒ වෙහෙස මහන්සිය නිවාගන්න නිදා ගන්නවා. ඒ හැර නවීන විද්‍යාත්මක නොයෙක් බෙහෙත් හේත්, ව්‍යායාම්...ආදී වියදම් අධික ක්‍රම වැහි වැහැල තිබුනත්, ඒවායින් ශරීර සෞඛ්‍යයත් ආරක්ෂා කරගෙන ප්‍රායෝගිකව සාර්ථක ප්‍රතිඵල අත්කර ගන්න නොහැකි වෙලා තියෙනවා.

දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ, මුළු දවසම වුනත් නිදි වර්ජිතව, වෙහෙස මහන්සියකින් තොරව, තමන්ගෙ එදිනෙදා වැඩ කටයුතු කරගෙන කාලය උපරිම වශයෙන් ඉතිරි කරගෙන ලෞකික වශයෙන් නිදහස් මානසික සුවයක් ලබාගන්න පුළුවන් ක්‍රමවේදයක්. ඒ කාරණය ලෝකෝත්තර මගටත් උපනිශ්‍රය කරගන්න පුළුවන්. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට මේ සම්බන්ධයෙන් සෘජුවම යොමුකළ ගැටළුවකට උන්වහන්සේ දුන්න පිළිතුරක් තමයි මේ.

ඒ සඳහා ක්‍රමයක් තියෙනවා. ඒක යෝගී ව්‍යායාමයක්. ඉස්සර මට එක්තරා යෝගීවරයෙක්ගෙන් ලැබිච්ච ක්‍රමයක්. හැබැයි මුලින් ඒක හුරු කර ගන්න නම් ටිකක් අපහසු වෙයි. නමුත් හුරු වුනාට පස්සෙ හරිම පහසුයි. කොහොමහරි කර ගත්තොත් නම් බොහොම වටිනවා.

ආධුනික අයට මේ ක්‍රමය මුලින්ම පුරුදු වෙන්න ඕන නිසා කුඩා දරුවන්ගෙන්, සතුන්ගෙන්, විවිධ සද්ද බද්දවලින් බාධා නොවන තැනක් තෝරගත්තොත් වඩා හොඳයි.

ඉස්සෙල්ලම මුළු ශරීරයම හිසත් එක්ක සම මට්ටමකට උඩුකුරුව හිටින විදිහට ඇඳක හෝ බිමක හෝ සුදුසු ස්ථානයක ඇස් දෙක පියාගෙන දිගා වෙන්න ඕන. එතකොට හිසට කොට්ටයක් තියාගන්නත් බෑ. මොකද හිසත් එක්කම ශරීරය තැනින් තැන උස් පහත් වෙන්නෙ නැති වෙන්න තියා ගන්න ඕන. අත් දෙක කෙලින් දික් කරල ඇඟිලි දිග හැරල දණහිස ළඟට අරගෙන අල්ල තරමක් උඩු අතට හිටින විදිහට කකුල්වල නොගෑවෙන්න දෙපැත්තෙන් තියාගන්න ඕන. හැබැයි ඇඟිලි ඕනෑවට වඩා ආයාසයෙන් දිග හරින්නෙ නෑ. සාමාන්‍යයෙන් ස්වභාවයෙන් දිගහැරියම ඇඟිලි අල්ල පැත්තට කොහොමත් ටිකක් නැමෙනවා. ඒ වගේම කකුල් දෙකත් හරියට කෙලින් දික් කරල නිදහසේ තියා ගන්න ඕන. කකුල්වල ඇඟිලිත් ආයාසයෙන් දික් කරන්නෙ නැතිව නිදහසේ දෙපැත්තට වැටෙන්න දෙන්න ඕන. ඒ කියන්නෙ කකුලෙ සුළැඟිල්ල තරමක් පොළව පැත්තට ස්වභාවයෙන්ම බර වෙනවා. මේ විදිහට මුළු ශරීරයම තද කරන්නෙ නැතිව මස්පිඬු ලිහිල් වෙන්න බොහොම නිදහසේ තියාගන්න ඕන.

ඒ වගේම දිගා වෙනකොටත් පහත ක්‍රමය අනුගමනය කරනවනම් තවත් පහසු වේවි. බිම දිගා වුනාට පසු කකුල් දෙක ඉදිරියට දිග හැරල, මුලින්ම කකුල් දෙකේ දණහිස්, විළුඹ, වළලුකර, මහපට ඇඟිලි එකට ගෑවෙන විදිහට තියාගෙන ඉන්පසු ඒවා නිදහසේ ආයාසයෙන් තොරව දෙපැත්තට කඩා වැටෙන්න සලස්වන්න.

දැන් කකුලේ මහපට ඇඟිල්ලේ ඉඳන් ඉහලට පුරුකෙන් පුරුක එකිනෙකට හිතෙන් අප්‍රාණික කරන්න, පණ නැති කරන්න ඕන. ඒ කියන්නෙ හිතෙන් සැහැල්ලු කරන්න ඕන. එතකොට පණ නැති වෙනවා. ඒ විදිහට මුළු ශරීරයටම කරන්න ඕන. එතැනදි ඒ ඒ අයගෙ අත්දැකීම් සහ පළපුරුද්ද අනුව අවශ්‍ය නම් කකුල් දෙකේ කොටස් වෙන වෙනම මාරුවෙන් මාරුවට හෝ එකට හෝ අප්‍රාණික කරන්න පුළුවන්. ඒ කියන්නෙ හොඳට අත්දැකීම් ලබාගත්ත කෙනෙකුට

නම් එකවරම කකුල් දෙකේම කොටස් ඒ විදිහට අප්‍රාණික කරන්න පුළුවන්. එහෙම පුරුදු නැත්නම් ඉස්සෙල්ලම දකුණු කකුලෙ කොටස් අප්‍රාණික කරල ඊට පස්සෙ වම් කකුලට යන්න පුළුවන්. ඒ විදිහට පහළ ඉඳන් තමයි උඩට එන්න ඕන. මහපට ඇඟිලිවලින් පටන් අරගෙන විළුඹ, වළලුකර, දණහිස, කළවා... ආදී වශයෙන් ඇවිත් යටිබඩ, පපුව, පපුව දෙපැත්ත, පිට, කොඳු ඇට පෙළ, උරහිස... ආදී වශයෙන් පණ නැති කරනවා. ඊළඟට අත්දෙක එකට හෝ වෙන වෙනම අරගෙන බාහුව, වැළමිට, මැණික් කටුව, අත්ල ආදී වශයෙන් ඇවිත් ඇඟිලි පුරුකෙන් පුරුක හිතෙන් පණ නැති කරනවා.

දැන් බෙල්ලෙන් පහළ කොටස ඉවරයි. ඊළඟට බෙල්ල, නිකට, තොල්, හකු, දිව (සමහරු දිව යටි තල්ලේ තියා ගන්නවා) නාසය, කම්මුල්, කන්, ඇස්, ඇහි බැම, ඇහේ බෝල, නළල... ඔය ආදී වශයෙන් ගිහින් හිස් මුදුනින් අවසන් කරනවා. දැන් මුළු ශරීරයම අප්‍රාණිකයි. ඒ විදිහට හුරු කරගන්න ඕන.

ටික වෙලාවක් යන කොට අත්, කකුල් හෙමින් සීරුවේ උඩට පාවෙලා යනවා වගේ, කකුල් දෙකෙන් උඩට උස්සල ඉහලට ගන්නවා වගේ දැනෙනවා. ඒ කියන්නෙ එහෙම උස්සන කෙනෙක් නෑ. නිකං පාවෙලා උඩට ගියා වගේ දැනෙනවා. සමහර දවස්වලට බෙල්ල පැත්ත එක්තරා මට්ටමකට පහතින්, කකුල් දෙක උඩ තියෙනවා වගෙත් දැනෙනවා. ඒ වෙලාවට ශරීරයක් තියෙනවද කියලවත් දැනෙන්නෙ නෑ. කකුලක් හොල්ලන්න කිව්වොත් එහෙම එකක් දැනෙන්නෙත් නැති තරම්. ඒවා තියෙන බවත් වැටහෙනවා. හැබැයි උඩ පාවෙනවා වගේ දැනෙනවා. ඊට පස්සෙ නැවත බලනකොට හිටිය වගේම එනවා. ඒක ඉබේටම සිද්ධ වෙනවා. විනාඩි දෙකක් ඇතුළත ක්ෂණිකවම ශරීරය ප්‍රකෘතිමත් වෙලා යථා තත්ත්වයට එනවා. ඒක හරියට විසාල සමාධියක් වගේ එන්නෙ. නමුත් ඒ අත්දැකීමත් හැමෝටම එක වගේ නොඑන්න පුළුවන්. ඒ ඒ අයගේ භාවනා, යෝග අත්දැකීම්, පළපුරුදු අනුව වෙනස් වෙන්න පුළුවන්.

ඒ නිසා ආධුනික අයට නම් ව්‍යායාමය ඉවරවෙලා ඇස් අරිනකොටත් එකපාරටම ආයාසයෙන් වටපිට බලන්නෙ නැතිව ස්වභාවයෙන්ම පෙනෙන දේ විතරක් බලන්න කියනවා.

හැබැයි ඔක කරනකොට දිගාවෙලාම ඉන්න ඕන. ඇඟ පණ නැති කළාම ඇකිලිලා වැටෙන්නෙ නැති වෙන්න තැන්පත් වෙලා තියෙන්න ඕන. ඒ නිසා පුටුවක ඉඳගෙන කරන්න බෑ. හරියට සමතලා තැනක් තියෙන්න ඕන. ඇඳක් නම් වළ ගොඩැලි තියෙන, ඇතුලට එබෙන මෙට්ටයක් තියෙන්න බෑ. එහෙම එබෙන්නෙ නැති, තරමක් තුනී සමතලා මෙට්ටයක් වෙන්න ඕන. තනිකරම බිම හෝ මැදපු ලෑල්ලක හෝ නැත්නම් යෝගී මෙට්ටයක් නම් වඩාත් පහසුයි. නමුත් හොඳින් හුරු වුණාට පස්සෙ නම් සාමාන්‍ය ඇඳක ඉඳගෙන වුණත් කරන්න පුළුවන්.

දැන් අර විදිහට කකුලේ මහපට ඇඟිල්ලෙන් පටන් අරගෙන මනසින් ශරීරයේ කොටස් හිත හිතා අප්‍රාණික කරගෙන යනකොට ඇඟ පණ නැති වෙනවා දැනෙනවා. ටිකක් හුරු වුණාට පස්සෙ එක පාරටම මුළු ශරීරයටම අමුතු සුවයක් ඇවිත් ශරීරයම උඩ ගියා වගේ දෙයක් වෙනවා. හරියට මනෝමය කය පාකරල තිව්ව වගේ. හැබැයි ඒ තත්ත්වය විනාඩියකට දෙකකට වඩා තියෙන්නෙ නෑ. ස්වයංක්‍රියවම නැවතත් යථා තත්ත්වයට පත් වෙනවා. ඒ වෙලාවට ශරීරයේ වේදනා කැක්කුම් කිසි දෙයක් නැති බොහොම නිදහස් සුවයක් ඇවිත් ඊට පස්සෙ නැවතත් ප්‍රකෘතිමත් වෙනවා. ඒකෙන් ශරීරයට පැය 24 ක නින්දක් ගිය ගාණට ප්‍රබෝධයක් එනව කියලයි කියන්නෙ. හරියට උදේ නැගිට්ටා වගේ.

ඊට පස්සෙ නැවතත් ඒ තත්ත්වයට සම වදින්න උත්සාහ කළාට බෑ. මොකද ශරීරයේ වෙහෙස යනකල් විතරයි ඒක සිද්ධ වෙන්නෙ. අර විනාඩියක දෙකක පොඩි වෙලාවට ගෙවුණ ශරීරය සියල්ල ඇදල අරන් සුද්ධ කරල ප්‍රකෘති කරනවා. නින්දෙදි කරන්නෙත් මේ වගේ ක්‍රියාවලියක්. වෙනසකට තියෙන්නෙ පැය 5-6 ක නින්දකින් කරන ක්‍රියාවලිය මෙතැනදි විනාඩි දෙකක් වගේ සුළු කාලයකින් සිද්ධ කරනවා.

ඔක ඉතින් දවසකට වතාවයි කරන්න ඕන. නැවත සැරයක් නිදිමත එන්නෙම නෑ. ඒ ප්‍රකෘතිය මුළු ශරීරයටම එනවා. ඊට පස්සෙ වෙහෙස මහන්සිය දැනෙන්නෙ නැතිව යනවා. මහන්සිය එනකල් ඒකට නැවත යන්නත් බෑ. එහෙම උත්සාහ කළාට එන්නෙ නෑ. මොකද ශරීරයට අවශ්‍ය වෙනකොට විතරයි ඒක කරන්න පුළුවන් වෙන්නෙ.

මේ ව්‍යායාමය වෙහෙස මහන්සි වෙච්ච, අමතර වශයෙන් නිදහස් වෙලාවක කරන්නත් පුළුවන්. හැබැයි ඉතින් කළබලේට කරන්න බෑ. හොඳ විවේකයක් තියෙන්න ඕන. ඒකට හරි නිදහසේ ඉන්න වෙලාවක හරි තමන් කැමති තැනකට ගිහින් ඔය විදිහට හුරු කරගන්න පුළුවන්.

මමත් ඔක ඒ කාලෙ අත්හදා බලල හරියට අත්දැකපු බොහොම හොඳ යෝගී ව්‍යායාමයක්. හරියටම හරි. ඉතින් ඒ කාලෙ එහෙම කළාම මුළු ශරීරයම හරි සුවයි. පැය ගණනක නින්දක් ලැබුවා හා සමානයි. ඔක අත්හදා බලන කොට මම පැවිදි වෙලත් නෑ. ගිහි කාලෙ මේ සාසනික කටයුතු පටන් ගන්නත් පෙර තමයි අත්හදා බැලුවෙ. හුරු වුණාම නැවතත් ඒ තත්ත්වයට යන්න හිතෙනවා. ඊට පස්සෙ නිදාගන්න අවශ්‍යතාවයකුත් නෑ. නිදිමතත් නෑ. හරි ප්‍රබෝධයි.

ඒ කාලෙ ඔකට හුරු වුණාම ටිකක් හාන්සි වෙලා ඉන්නකොට ක්ෂණිකවම ඒ තත්ත්වය ඇවිත් කය පාවෙලා හිටිනවා. එහෙම හිටියට පස්සෙ නැවත වෙහෙස මහන්සියක්, නිදිමතක් එන්නෙ නෑ. ඒ විදිහට දවස් ගණනක් වුනත් ඉන්න පුළුවන්. මම ඒ කාලෙ බොහොම අඩුවෙන් තමයි නිදාගත්තෙ. මේ ක්‍රමය හුරු වුණාම නින්දක අවශ්‍යතාවයක් නෑ. ඉබේටම ඔය තත්ත්වය එනවා. නිදාගෙන ඉන්නකොට හරි කොයි වෙලේ හරි ඔය විනාඩි දෙක ඇවිත් මහ අමුත්තක් දැනෙන්න ගන්නවා. ඊට පස්සෙ නිදිමත ඉවරයි. නැවතත් ඕනනම් ඉතින් ශරීරයට මහන්සියක් නිදිමතක් එනකොට හොඳට සුවපහසුව නිදහසේ ඉඳගෙන ඔක කර ගත්තම කිසි අමාරුවක් නෑ. ඊට පස්සෙ ඕන නම් නිදා ගන්නෙ නැතිව තමන්ගෙ වැඩක් පලක් කරගන්න පුළුවන්. මම ඒ දවසවල රෑ දවල් දෙකේම කොච්චර මහන්සි වෙනවද! කොච්චර අමාරු වෙන්න ඕනද! ධර්ම සාකච්ඡා එහෙම ඉවරයක් නෑ. ඒත් ඒ කාලෙ ඉතින් එහෙම ගානක්වත් තිබුනෙ නෑ. භාවනාවට අමතරව මම ඔය ක්‍රමයත් අත්හදා බලල ප්‍රයෝජනයට ගත්තා. මේ ක්‍රමයෙන් ඉතින් කාලය ඉතිරි කරගන්න පුළුවන්. වැඩි වැඩ කොටසක් කරගන්න පුළුවන්. ඔක හුරු කරල බලන්න හොඳ ක්‍රමයක්.

(වහරක හාමුදුරුවන්ට තිබිච්ච සසර පුරුදු, භාවනා ශක්තිය ආදී විශේෂ හැකියාවන් නිසා උන්වහන්සේ බොහොම පහසුවෙන් ඒ ක්‍රමවේදය



අනුගමනය කරල සෑහෙන අත්දැකීම් ප්‍රමාණයක් ලබාගෙන තිබුනත්, ආධුනික අයට ඒ වගේ තත්ත්වයක් එකපාරටම නොඑන්න පුළුවන්. මේ යෝගී ව්‍යායාමය අදටත් යෝග පංතිවල කරන බව පෙනී ගියත්, වහරක හාමුදුරුවන්ට දැනිච්ච මට්ටමේ අත්දැකීම් සහ බොහොම පහසුවෙන් ඕනෑම තැනක ඉඳගෙන ඒ තත්වයට පත්වීමේ හැකියාව බොහොමයක් අයට ඒ ආකාරයෙන්ම නැති බවත් දැනගන්න ලැබුනා. සමහර ආධුනික අයට මේ ව්‍යායාමය කරගෙන යනකොට අතරමගදී නින්ද යනවා. එහෙම නින්ද යන්නෙ නැති වෙන්න කරගන්න උත්සාහ කරන්න ඕන. ඒ නිසා පළපුරුදු නැති ආධුනික අය ඒ ව්‍යායාමයේ එන සියලු ක්‍රම හරියටම අනුගමනය කළොත් වඩාත් පහසු වේවි.)

## කාමය

කාමය කිව්වම අද එකම අදහසක් ගත්තත්, ධර්මානුකූලව විග්‍රහ කරනකොට විවිධ අවස්ථා තියෙනවා. උදාහරණයක් විදිහට එකම ස්ත්‍රිය කෙනෙකුට භාර්යාව වෙනවා. තව කෙනෙකුට අම්මා වෙනවා. තව කෙනෙකුට දුව වෙනවා. තව කෙනෙකුට සහෝදරිය වෙනවා. තවත් කෙනෙකුට යෙහෙළියක්/හිතවතියක් වෙනවා. එකම ස්ත්‍රිය ඔය වගේ එක එක විදිහට ඉන්න පුළුවන්. එතකොට ඒ ඒ අයට එන හැඟීමත් විවිධාකාරයි. ඇසුරු කරන කාරණය අනුව එක එක විදිහයි. මේ ඇසුරු කරගෙන ඉන්න හැම අවස්ථාවකදිම කාම රාගයේ තමයි ඉන්නෙ. හැබැයි මාතෘ ප්‍රේමය, එහෙම නැත්නම් දරු ප්‍රේමය නිසා ස්ත්‍රියකට/අම්ම කෙනෙකුට එන හැඟීම එකක්. අම්ම කිව්වොත් මම පුතා එක්ක ඉන්නවා කියල එතැන තියෙන්නෙ මාතෘ ප්‍රේමයක්/ දරු ප්‍රේමයක්. ඒකත් කාම රාගයක්. හැබැයි සැමියත් එක්ක ඉන්නව කිව්වොත් එන්නෙ වෙනත් හැඟීමක්. එතකොට එකම පුද්ගලයා මුල් කරගෙන විවිධ අයට විවිධ හැඟීම් එන්නෙ. කෙනෙකුට බුදුන් දකින්න, බණ අහන්න කැමැත්ත තිබුනොත් ඒක රූප රාගයක්. ඉතින් ඔය කාරණයෙන් කාම රාග, රූප රාග හොයා ගන්න පුළුවන්, කාම අදහස් හොයන්න පුළුවන්. හැබැයි කාම අදහස්වලත් අර කියපු විදිහට විවිධ අවස්ථා තියෙනවා. කාමරාග තිබුනොත් තමයි කවදහරි කාම උපාදානයක් වෙන්නෙ. එහෙම නැතිව කාම තිබුන පලියට කාම උපාදාන ඇති වෙන්නෙ නෑ.

මේ කාමය ගැන කියනකොට අමනුස්ස ලෝකය ගැන කතා නොකරම බෑ. දැන් ඔය අමනුස්ස ලෝකයෙන් ඇවිත් මාව පොළඹවන්න, මෙල්ල කරන්න පසුගිය කාලයේ නොයෙක් ආකාරයේ නැටුම් නැටුවා. සමහර වෙලාවට හත් අටදෙනා, දහ දොළොස්දෙනා එනවා. ඇවිත් එළිවෙනකල් ඇඳට ළං වෙලා ඇඳ වටේ ඉඳගෙන ඉන්නවා. උන්ගෙ වයසක් කියන්නත් බෑ. අවුරුදු 11, 12, 13, 14 වගේ එක එක වයස් මට්ටම් මවාගෙන එන්නෙ. අඟර දඟර දදා එක එක ඉරියව්වලින් ඉඳගන්න හදනවා. හැබැයි ඒ අයට මම ඉන්න ඇඳේ ඉඳගන්න බෑ, ලිස්සනවා. ඉඳගන්න හැදුවම ඇඳ පහත් වෙනවා. මගේ ළඟටම වෙලා ඉන්නවා. මොකද මම අත දික් කරල අරගනියිද බලන්න. යම්කිසි විදිහකින් අපි එහෙම අත දික් කළොත් ඒ අය ගන්න ලෑස්ති වෙලා ඉන්නෙ. ඒ තමයි ඒ ලෝකෙ හැටි. දැන් එතකොට මේ අපි ඉන්න ලෝකෙ බැලුවොත් මම ඇඳේ ඉන්නවා, වෙන කවුරුවත් පේන්න නෑ. කවුරු හරි මනුස්ස ලෝකයේ කෙනෙක් බැලුවොත් වෙන කවුරුවත් ඉන්න බවක් පේන්න නෑ. නමුත් ඇඳ වටේට ඒ ගුප්ත ලෝකයේ අය ඉන්නවා. හැබැයි ඒ ලෝකය වෙනම එකක්. මම ඉන්නෙ වෙනම ලෝකයක. නමුත් එක ළඟ ඉන්නවා වගේ. වෙනසකට තියෙන්නෙ මම ඒ කාලෙ ඒ අයත් එක්ක කතා කරන්න ගියේ නෑ.

ඒ වගේම ඒ ලෝකෙත් පරිගණක වගේ දෙයක් තියෙනවා. ලොකු කරල බලන කාච වගේ දෙයක් ඒවායෙත් තියෙනවා. ඒක මෙහෙයවන කෙනාට තමන්ට අවශ්‍ය චිත්‍රයක් අඳින්න පුළුවන්. උදාහරණ විදිහට කොටියෙක් ඇඳල ඒක චිත්‍රයට අරගෙන අණක් දීල පිටත් කරන්න පුළුවන්. ඒ කියන්නෙ අර පරිගණකයෙන් නිපදවපු චිත්‍රයට අදහස් දෙනවා, උඹ ගිහින් අහවල් කෙනාගෙ ඇඟට පැනපන් කියල. ඒක එක්තරා ආකාරයකට මනෝමයයි. ඉතින් එතකොට ඇත්තටම කොටියෙක් පිට වෙනවා. හරියට මේ මනුස්ස ලෝකයේ අය පිල්ලි යවනවා වගේ ක්‍රමයක්. එතකොට ඒ නිපදවපු එකා ඇවිත් බලපෑම් කරනවා. ඔය විදිහට සත්වයෙක්, මනුස්සයෙක්, ළමයෙක්.... ආදී වශයෙන් ඕනෑම දෙයක් නිර්මාණය කරල යවන්න පුළුවන්. එතකොට ඇත්තටම මවපු රූපය එනවා. පණ තියෙනවද නැත්ද කියල නිගමනය කරන්නත් බෑ. සමහරවිට අර මවන අනුරුවට කොහේ හරි ඉන්න ගන්ධබ්බ සත්වයෙක් තාවකාලිකව සම්බන්ධ වෙන්නත් පුළුවන්. මොකද අප්‍රමාණ අත්බැව් තියෙන නිසා එහෙම වෙන්න පුළුවන්. නමුත් හරියටම මොකක්ද කියල නිගමනය කරන්න බෑ. ඉතින් අපි මේ ඉන්න මනුස්ස ලෝකයෙන් විතරක් නෙවෙයි අපිට කරදර බාධක එන්නෙ. ගුප්ත ලෝකයෙනුත් ඔය වගේ කරදර බාධක එනවා. නමුත් ගැටළුව තියෙන්නෙ ඒක හුඟක් අයට පේන්නෙ නැති එකයි. ඒ නිසා මනුස්ස ලෝකයෙන්ම ඔක්කොම සිද්ධ වුනයි කියල නිගමනය කරනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ XXVIII

## අභයරතනාලංකාරය - 99

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

කෙනෙක් දහම් අවබෝධය ලබාගෙන නිවී සැනසුනාද කියන කාරණය ඒ පුද්ගලයාගේ දැනුමෙන් හෝ වචනවලින් හෝ මනින්න පුළුවන් කමක් නෑ. මොකද දැනුම සහ අවබෝධය කියන්නෙ කාරණා 2 ක්. නිවී සැනසීම කියන කාරණය අවබෝධයත් එක්ක ලැබෙන දෙයක් මිසක් දැනුමත් එක්ක ලැබෙන දෙයක් නෙවෙයි. දැනුම කියන එක පොතපත හදාරල තව කෙනෙක් කියපු දෙයක් අහල බලල එකතු කරගන්න පුළුවන් දෙයක්. ඒත් අවබෝධය කියන එක එහෙම බාහිරින් විතරක් එකතු කරගන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ සඳහා යම් කිසි ප්‍රඥාවක්, එහෙම නැත්නම් නැණ නුවණක් තියෙන්න ඕන. ඒ වගේම සසර පුරන ලද පාරමිතා තියෙන්නත් ඕන. එහෙම නැත්නම් කොච්චර දැනුම තිබුනත් ඒ දැනුමේ එල්බගෙන ඉන්නව මිසක්, අඩුගානෙ සතර අපායෙන් නිදහස් වෙන්නවත් ලැබෙන්නෙ නෑ.

ඉතින් මේ දැනුම සහ අවබෝධය කියන කාරණා දෙක වෙන වෙනම පිහිටපු උදවිය එදා බුද්ධ කාලයෙත් හිටියා. බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලයෙත් ලෝකායත සාස්ත්‍ර හදාරල දැනුමෙන් මත්වෙලා උදම් වෙලා අවබෝධයක් නැතිව හිටපු සමහර උදවිය, අවබෝධය ඇතත් දැනුම නැතිව නිවී සැනසී ගිය උත්තමයන් සමග වාද විවාද කරන්න ගිය අවස්ථා ගැන දහම් පොත්පත්වල සඳහන් වෙනවා. හැබැයි ඒ කිසිම වාද විවාදයකින් නිවී සැනසුන අවබෝධය ලබපු උත්තමයන්ව පරාජය කරල ජය ගන්න ඒ අයට පුළුවන් වෙලා නෑ. හිරු දුටු පිණි බින්දු වගේ වාෂ්ප වෙලා ගියා. තමන් ජය ගත්තා කියල හිතාගෙන හිටියත් ඒ අයට අවසානයේ ලැබුනෙ පරාජයක්මයි.

ඉතින් මේ වගේ දහම් අවබෝධයක් නැතිව, දැනුමෙන් මත්වෙලා මහා උඩඟුකමින් අහංකාරකමින් වැජඹිලා අනෙක් අයට අභියෝග කරන අය අද වුනත් අඩු නෑ. අද එදා තරම් අවබෝධය තියෙන, නිවී සැනසුන උත්තමයන් නොහිටියත්, කලාතුරකින් හරි ඒ වගේ උත්තමයන් තවමත් නිහඬව මේ ලෝකයේ වැඩ ඉන්නවා කියන කාරණය බොරුවක් නෙවෙයි. මොකද මේ බුද්ධ සාසනයේ අධිගම අන්තර්දාන වෙන කාලය තවම ඇවිත් නෑ. ඒකට තවත් කල් තියෙනවා. ඒ නිසා ඒ වගේ උත්තමයන් අතලොස්සක් හරි නැත්තෙ නෑ. නමුත් එහෙම හිටියට එකපාරටම පිටින් අඳුනගන්න පුළුවන්කමක් නෑ. මොකද ඇත්තටම ඒ වගේ **නිවුන සැනසුන උත්තමයන් ලාබ කීර්ති ප්‍රසංසා බලාපොරොත්තුවෙන් තමන්ගෙ ගුණ කිය කියා ලෝකයාට අඬබෙර ගහන්නෙ නෑ. තමන්ගෙ තත්වය පෙන්වන්න අනෙක් අයට අභියෝග කර කර වාද විවාදවලට යන්නෙ නෑ. තමන් විතරයි හරි දහම දන්නෙ, අනෙක් අය කියන ඒවා වැරදියි කිය කියා අනුන් හෙළා දැකල කතා කරන්නෙ නෑ.**

එහෙනම් ඒ වගේ උත්තමයන් කොහොමද අඳුනගන්නෙ? එහෙම බැලු බැල්මට පිටින් අඳුනගන්න බෑ. මොකද සමහර උත්තමයො ඉන්නවා, දහම් අවබෝධය ලැබුවත් දේශනා ප්‍රාතිහාර්ය නැති නිසා නිහඬවම ඉන්නවා. ඒ වගේ උත්තමයන් අඳුනගන්න වෙන්නෙ යම්කිසි කාලයක් ඇසුරු කරලම තමයි. මොකද ලෝකෝත්තර වශයෙන් නිවී සැනසුනා නම් ඒ පමණටම ලෝකයත් අත්හැරල තියෙන්න ඕන. ඒකත් කයින් අත්හැරීමක් නෙවෙයි, මනසින් තමයි අත්හැරෙන්නෙ. වෙනත් විදිහකින් කියනව නම් ලෝකය කෙරෙහි ඡන්දරාගය දුරුවෙලා තියෙන්න ඕන.

ඒ වගේම තවත් නිවුන සැනසුන උත්තමයන් කොටසක් ඉන්නවා, අවබෝධය ලැබුව වගේම ඒ අවබෝධය තවත් කෙනෙකුට ලැබෙන විදිහට උදාහරණ උපමා සහිතව විග්‍රහ කරල දෙන්න පුළුවන්. ඒ වගේ උත්තමයින් තමන් නිවී සැනසුනා කියල ලාබ කීර්ති ප්‍රසංසා බලාපොරොත්තුවෙන් ලෝකයාට අඬබෙර නොගැහුවත්, ඒ දේශනා අහන ශ්‍රාවකයින්ට ලැබෙන නිවී සැනසීමත් එක්ක ඒ අය තේරුම් ගන්නවා, තමන්ටත් මේ දහම අහල ඇත්තටම පෙර නොතිබිච්ච නිවීමක් සැනසීමක් ඇති වුණානම්, ඒ දහම විග්‍රහ කරල දීපු උත්තමයත් නිවුන සැනසුන උත්තමයෙක් වෙන්න ඕන කියල. මොකද එහෙම නිවී සැනසිලා නැති, අවබෝධයක් නැති, හුදෙක් දැනුම විතරක් තියෙන කෙනෙක්ගෙ දේශනා අහල කවදාවත් මේ ලෝකෝත්තර මූලික අවබෝධය කියන එක ලැබෙන්නෙ නෑ. සමහරවිට ලෞකික වශයෙන් එවෙලෙට තාවකාලික සැනසීමක් ලැබුනත් ඒක දිගටම පවතින දෙයක් නෙවෙයි. නමුත් ලෝකෝත්තර වශයෙන් ලබන අවබෝධය, නිවී සැනසීම එහෙම නෑ. ඒ අවබෝධය ලබපු දා පටන් කවදහරි මේ සසර ගමන කෙළවර කරන තාක් කල්, දෙව් බඹ මනු මොන අත්බැව් ලැබුවත් ඒ අවබෝධය, නිවුන සැනසුන බව නැතිවෙන්නෙ නෑ. ලෞකික දැනුමේ සහ ලෝකෝත්තර අවබෝධයේ වෙනස ඒකයි.

**මේ දහම අවබෝධ කරගෙන තම තමන්ගෙ නැණ පමණින් ලෝක සත්වයාට එතෙර වෙන්න මග කියා දෙන උත්තමයන් වහන්සේලා තවමත් වැඩ ඉන්න යුගයක, ඒ දහමම කටපාඩම් කරගෙන, දැනුම විතරක් ගොඩ ගහගෙන අවබෝධයක් නොලබාම, ඒ දහම් දැනුමෙන් මත්වෙලා තමන්ගෙ මාන්නක්කාරකම, අහංකාරකම ලෝකයාට ප්‍රදර්ශනය කරමින්,**

**පැහැදිය යුතු තැන නොපැහැදෙන, නොපැහැදිය යුතු තැන පැහැදෙන උදවියත් ඉන්න බව අද බොහෝකොටම දකින්න තියෙන දෙයක්.** ඒ අය බුදු දහම දැනුමෙන් විතරක් ගොඩ ගහගෙන තියෙන්නෙ තමන්ගෙ පැවැත්ම උදෙසා මිසක් නිවන් දැකීම අරමුණු කරගෙන නෙවෙයි. දැන් මේ කියන්න යන්නෙත් ඒ වගේ එක්තරා කතාවක්. මේ කතාවෙන් ගන්න තියෙන ආදර්ශයන් බොහොමයි. **ඇත්තටම නිවී සැනසුන උත්තමයින් කොතරම් නිහතමානීද, අවංකද යන්නත්, දැනුම ගොඩගහගෙන මත්වෙලා අවබෝධයක් නොලැබූ උදවිය කොතරම් අහංකාරද, ගිනි අවුලගෙනද යන්නත් මේ කතාවෙන් මනාව පිළිබිඹු වෙනවා.**

මේ සිද්ධිය මම පුද්ගලිකවම දන්න කියන කාරණයක් නිසා, පුද්ගල නම්ගොත් විවේචනවලින් තොරව හැමෝගෙම යහපත පිණිසයි මේ සටහන් කරන්නෙ. මේ සිද්ධිය වුණේ 2008-2009 වගේ කාලයේ. ඒ කාලය වෙනකොට බොහෝ දෙනෙකුට මේ පෙර නොඇසූ බණ දහම් අහල, ඒ දහම් පණිවුඩය තමන් දන්න කියන අනෙක් උදවියටත් කොහොම හරි දෙන්න ඕන කියන යම්කිසි විශේෂ උනන්දුවක් ඇතිවෙලා තිබුණා. ඒක සාමාන්‍යයෙන් මේ බණ දහම් අහන ඕනෑම කෙනෙකුට මුලින්ම ඇතිවෙන අදහසක්. ඉතින් මේ තරම් වටිනා කියන බණ දහමක් අනෙක් අයටත් දෙන්න ඕන කියන සිතිවිල්ල නිසා, මමත් දන්න කියන උදවියට පුළුවන් විදිහට ඒ දහම් පණිවිඩය ලබාදෙන්න කටයුතු කළා. ඒවායින් සාර්ථක වෙච්ච අවස්ථා වගේම අසාර්ථක වෙච්ච අවස්ථාත් තියෙනවා.

මේ කියන අවස්ථාවත් ඒ වගේ අසාර්ථක වෙච්ච එකක්. මේ සිද්ධියට සම්බන්ධ පුද්ගලයා අවුරුදු 60 ක් විතර වයස, ජාතික ඇඳුම අඳින, කොණ්ඩෙ පාට කරල තෙල් ගාල හොඳට හිස පීරගෙන, යම්කිසි ආකාරයකට සමාජයේ බාහිර පෙනුමෙන් හොඳට පේන්න හිටපු කෙනෙක්. ඒ වගේම ත්‍රිපිටකයත් කට පාඩම් කරගෙන ඒ සම්මත දැනුමත් බොහොම ඉහළින් තිබුන, රූපවාහිනී නාලිකාවලත් යම් යම් දහම් සාකච්ඡාවලට සහභාගි වුණ කෙනෙක්. නමුත් මේ කියන කෙනා මම පුද්ගලිකව වැඩිය දැන අඳුනගෙන කතාබහ කරල නෑ. වහරක හාමුදුරුවො මුණගැහෙන්න පෙර තවත් එක්තරා භික්ෂූන් වහන්සේ නමකගේ දහම් සාකච්ඡා කිහිපයකට සම්බන්ධ වෙලා තිබුණ නිසා යම් පමණකට කෙටි දැන හැඳින ගැනීමක් විතරයි තිබුනෙ.

කොහොමහරි මේ දහම ගැන උනන්දුවෙන් හොයන මම දන්න කියන අයටත් ඒ පණිවුඩය දැනුම් දෙන්න ඕන කියන අදහස නිසාම, කාලයක් යනකොට මට මේ කියන පුද්ගලයා ගැනත් මතක් වෙලා මේ ගැන විස්තර කියන්න ඕන කියල හිතුනා. ඒ නිසා දුරකථන අංකයක් හොයාගෙන කතා කරල දවසක් මුණ ගැහෙන්න ගෙදරට ගියා. ඇත්තටම මම හිතාගෙන ගියේ ඔහු පිට පෙනුමට බොහොම නිවිච්ච කෙනෙක් කියල. නමුත් ගිහින් කතා බහ කරනකොට තමයි තේරුණේ අභ්‍යන්තරයෙන් ඊට වඩා වෙනස් කෙනෙක් කියල. මම හිතාගෙන හිටියෙ ඔහු ඒ වෙනකොටත් වහරක හාමුදුරුවන් ගැන හෝ ඒ බණ දහම ගැන හෝ නොදන්නව ඇති කියල. නමුත් ඔහු වහරක හාමුදුරුවො මුණගැහිල නොතිබුනත්, ඒ බණ දේශනා අහල තියෙන කෙනෙක් කියල කතා බහ කරනකොට දැනගත්තා. මොකද මේ කාලය වෙනකොට ප්‍රධාන පෙළේ රූපවාහිනී නාලිකාවකින් වහරක හාමුදුරුවන්ගෙ බණ දේශනා සතියට දවස් කිහිපයක්ම විකාශනය කරන්න පටන් අරගෙන තිබුණා. අන්න ඒ ඔස්සේ මේ කියන පුද්ගලයත් බණ දේශනා කිහිපයක් අහල තිබුණා.

මම ඉතින් ඔහුට බණ කියන්න ගියා නෙවෙයි. වහරක හාමුදුරුවො දේශනා කරන සැඟවුණු දහම ගැන පණිවුඩය දැනුම් දීල ඔහුවත් ඒ මාර්ගයට යොමුකරන අදහසින් තමයි ගියේ. මොකද ඔහු බණ දහම ගැන උනන්දුවක් දක්වන කෙනෙක් නිසා. නමුත් මේ දහම ගැන කතා කරනකොටම තේරුම් ගියා, තමන් කාමරාග පටිඝත් ඉක්මවල ඉහළ මගඵලයක ඉන්නව කියල ඔහු යම්කිසි මාන්නයකින් කතා කරන බව. ඒ කතාව ඔහුගේ බිරිඳත් බොහොම කැමැත්තෙන් අහගෙන හිටියා. ඔහු තමන්ගෙ වාහනය පෙන්වල මට කියනවා, මේ වාහනය මට හැපුනත් කැඩිල බිඳිල ගියත් ඒ ගැන කිසිම කම්පාවක් නෑ, ඒ ගැන කිසිම ආසාවක් තණ්හාවක් නෑ කියල. තවත් ඒ වගේ කාරණා කිහිපයක් පුන පුනා උද්දාමයෙන් කියල, ඔහු මට අඟවන්න උත්සාහ කළේ තමන් ඉහළ මගඵලයක ඉන්න බව. මම වහරක හාමුදුරුවො ගැන කිව්වම ඔහු ඒ සම්බන්ධයෙන් යම්කිසි විවේචනාත්මක අදහසක් දරණ බවත් පැහැදිලි වුණා. ඔහු ඒ රූපවාහිනී නාලිකාවේ විකාශය වුන වහරක හාමුදුරුවන්ගෙ බණ දේශනා අහපු බවත්, ඒ විග්‍රහයන් වැරදි බවත් කියා සිටියා.

මම කිව්වා, ඉතින් උන්වහන්සේ බොහොම නිවිච්ච උත්තමයෙක් නිසා ඕනෑම දහම් කරුණක් බොහොම සුහදව විසඳගන්න පුළුවන්, ඒ නිසා ඔය ගැනත් ගිහින් කතා බහ කළොත් නරකද කියල. ඇත්තටම ඔහුව ඒ දෘෂ්ටියෙන් ගලව ගන්න පුළුවන් වෙයි කියන විස්වාසයෙන් තමයි මම එහෙම කිව්වෙ. ඒත් ඔහු ඒ සඳහා ඒ තරම් කැමැත්තක් නොදක්වා, තමන්ගෙ චිත්ත පාරිසුද්ධිය ගැනම උදම් අනන කොට මම ඇහුවා, ඇයි මහත්තයා වහරක හාමුදුරුවො මුණගැහෙන්න යන්න බයද කියල. මම එහෙම ඇහුවෙ ඔහුව අපහසුතාවයට පත්කරන්න හෝ පහත් කරන්න හෝ නෙවෙයි. වහරක හාමුදුරුවො එහෙම සුහදව කතාබහ කරන්න පුළුවන් භික්ෂුන් වහන්සේ නමක් නෙවෙයි කියල හෝ විවිධ තර්කවාදවලින් ඔහුව කපාහරියි කියන හෝ අදහසක් ඔහුට තිබුණනම්, උන්වහන්සේ එහෙම කෙනෙක් නෙවෙයි, අන්‍ය අදහස්වලටත් බොහොම සාවදානව ඇහුම්කං දෙන, දහම් ගැටළු ප්‍රායෝගිකව ලිහල දෙන්න පුළුවන් හොඳ අවබෝධයක් තියෙන සිල්වත් හාමුදුරුවො නමක් නිසා, බය නැතුව ගිහින් මුණගැහෙන්න කියන කාරණය තමයි මට දැනුම් දෙන්න ඕනකම තිබුනෙ.

කොහොමහරි මම එහෙම කිව්වට පස්සෙ ඔහු ටිකක් නොරිස්සුම් විදිහට, පිස්සුද බයවෙන්නෙ මොකටද, මම බය නෑ, හොඳයි එහෙනම් යමු කිව්වා. හැබැයි ඔහු කිව්වා, මම එනව නම් මගේ මේ නෝනත් එක්කයි එන්නෙ කියල. මම කිව්වා, අපි යන්නෙ දහම් සාකච්ඡා කරන පොදු දවසක නෙවෙයි, පුද්ගලික සාකච්ඡාවකට, හාමුදුරුවො පුද්ගලිකව මුණගැහෙන ඒ වගේ දවස්වල උඩ කුටියේ වැඩ ඉන්න නිසා ඒ ස්ථානයට කාන්තා පක්ෂයට යන්න බෑ කියල. ඒ පාර ඔහු කියනවා, එහෙම බෑ මට නෝනව ගෙදර තනියෙන් තියල යන්න බෑ, මොනවහරි කරදරයක් වුනොත් බලාගන්න කෙනෙක් නෑ කියල. දැන් මේ තමන්ගෙ වාහනය පෙන්වල, ඒක කැඩිල බිඳිල වැනසිලා ගියත් ඒ ගැන දුකක් කම්පාවක් තණ්හාවක් නෑ, තමන් ඉහළ මගඵලයක ඉන්නෙ කියල හඟවපු මනුස්සයා, තමන්ගෙ බිරිඳ ගෙදර



පාසල් ළමුන් සහ ගුරු භවතුන් උදෙසා ආරාධිත දහම් දේශනයක් පවත්වමින්

තියල මොහොතකටවත් පන්සලට යන්න අදිමදි කරන හැටි. කොහොම හරි ඔහු තමන්ගෙ බිරිඳවත් එක්කගෙන යා යුතුයි කියන දැඩි මතයේම හිටිය නිසා මම කිව්වා, මහත්තයගෙ කැමැත්තක් කරන්න, හැබැයි උඩ කුටි දිහාවට නම් කාන්තාවන්ට යන්න බෑ, හාමුදුරුවො පහලට වඩින්නෙ පොදු දහම් වැඩසහටන් තියෙන දවස්වලට විතරයි, එදාට විතරයි කාන්තා පක්ෂයට මුණගැහෙන්න පුළුවන් කියල.

ඊට පස්සෙ මම වහරක හාමුදුරුවන්ට කතා කරල ඇහුවා, දහම ගැන උනන්දුවක් දක්වන මහත්තයෙක් මුණගැහෙන්න එන්න කැමැත්තෙන් ඉන්නවා, එක්කගෙන එන්නද කියල. වහරක හාමුදුරුවොත්, හා කමක් නෑ එහෙනම් හෙට අහවල් වෙලාවට එන්න කිව්වා. සාමාන්‍යයෙන් ඒ දවස්වල දහම් වැඩසටහන් තියෙන දවස්වලට පරිබාහිරව පුද්ගලිකව කවුරුහරි එක්කගෙන යනව නම් අපි උන්වහන්සේට දැනුම් දීලයි යන්නෙ. මොකද නැත්නම් උන්වහන්සේ නිතරම භාවනා කටයුතුවල යෙදෙන නිසා, සමහර අවස්ථාවල කුටියට භාවනා කරන්න ගියාම පැය ගණනකටවත් එලියට වඩින්නෙ නෑ. ඒ නිසා කලින් දැනුම් දුන්නම උන්වහන්සේ වෙලාවක් දෙනවා එහෙනම් මේ වෙලාවට එන්න කියල. ඒ වගේම ඒ එන හැමකෙනා ගැනම සමාධියෙන් යොමුකරල බලන්නෙත් නෑ. උන්වහන්සේට කෙනෙක්ගෙ නම කිව්වම, ඒ කෙනා මොන විදිහෙ කෙනෙක්ද කියල එක්තරා මට්ටමකට කියන්න පුළුවන් සමාධිමය හැකියාවක් තිබුණත්, හැම අවස්ථාවකම එහෙම යොමු කරල බලන්නෙ නෑ. ඉතින් මේ අවස්ථාවෙදිත් සාමාන්‍ය විදිහට, හා හොඳයි එන්න කියල කිව්ව මිසක් වැඩි තොරතුරු කතාවුනේ නෑ. මම ඔහුගෙ නම කිව්වෙත් නෑ.

දැන් ඊළඟ දවසෙ ඔහු නෝනත් එක්ක තමන්ගෙ වාහනෙන් ඇවිත් මාවත් එක්කර ගෙන වහරක යන්න පිටත් වුණා. ඔහොම යනකොට අතරමගදි ඔහු පිටිපස්ස හැරිල මගෙන් අහනවා, ඔබ දන්නවද අද අපි ඇයි මේ ගමන යන්නෙ කියල. ඉතින් නොදන්න දහම් ගැටළු තියේ නම් ඒ ගැන සකච්ඡා කරල විසඳගන්නනේ, වෙන මොකටද කියල මම ඇහුවා. ඒ පාර ඔහු කියනවා, නෑ නෑ ඒකට නෙවෙයි, ඔබ එදා මගෙන් ඇහුවනේ ඇයි යන්න බයද කියල, අන්න ඒ බය නැති බව පෙන්වන්නයි මම මේ යන්නෙ කියල. එතකොට මේ ගමනින් වැඩක් සිද්ධ වෙන එකක් නෑ කියල මට හිතුනත්, දැන් ඉතින් කරන්න දෙයක් නෑ කොහොමත් මගක් වෙනකල් ආව නිසා යනවා කියන හැඟීමෙන් තමයි ගියේ.

වහරක පන්සලට ගිහින් ඔහු තමන්ගෙ බිරිඳවත් උඩ ආවාස කුටිය දිහාවට එක්කගෙන යන්න හදනකොට මම කිව්වා, උඩට කාන්තාවන්ට යන්න බෑ නෝනව පහළ ධර්ම ශාලාවෙන් නවත්වල යන්න කියල. එතකොට ඔහු ඒ ගැනත් මාත් එක්ක විවිධාකාරයෙන් තර්ක කළා, කොහොම හරි එක්කගෙන යන්න ඕන කියල. පස්සෙ බැරිම තැන මම කිව්වා, හාමුදුවුරුවන්ගෙන් අහන්නෙ නැතිව එහෙම එක්ක ගෙන යන්න එපා, එහෙනම් ඉස්සෙල්ලම හාමුදුරුවන්ට කතා කරල ඒ ගැන අහන්න කියල. ඉතින් ඔහු නෝනව ටික වෙලාවකට ධර්ම ශාලාවෙ නතර කරල හාමුදුරුවො මුණගැහෙන්න මාත් එක්ක උඩ ආවාස ගෙට ගියා. ඔහු ගිහින් ඉස්සෙල්ලම ඇහුවෙ, හාමුදුරුවනේ මගේ නෝනත් ආසයි මේ බණ අහන්න, උඩට එක්කරගෙන එන්නද කියල. එතකොට වහරක හාමුදුරුවො බොහොම කාරුණිකව පහදල දුන්නා, මහත්තයෝ මේ ස්ථානයේ දැන්වීම් ගහලත් තියෙනවා කාන්තා පක්ෂයට උඩට එන්න එපා කියල, හේතුවක් ඇතිවයි මම ඒක පෙන්වල තියෙන්නෙ කියල. එතකොට ඔහු තර්ක කරනවා, ඒ වුනාට විශාකා මහා උපාසිකාවත් අවේලාවෙ හැන්දෑ වරුවෙ බුදු හාමුදුරුවො මුණ ගැහෙන්න ඇවිත් දහම් සාකච්ඡා කරල ගියා නම්, ඇයි ඔබ වහන්සේට මගේ නෝනව එක්කරගෙන එන්න අවසර දෙන්න බැරි කියල.

එතකොට වහරක හාමුදුරුවො ඒ කාරණයත් ධර්මානුකූලවම පහදල දුන්නා. මහත්තයෝ මටනම් කිසි ගැටළුවක් නෑ කවුරු ආවත්, මම නිවන් දකින්න බණ කියනවා. නමුත් මෙතැන බණ භාවනා කරන තවත් භික්ෂූන් වහන්සේලා වැඩ ඉන්නවා. ඒ වගේම කාන්තා පක්ෂය කුටි දිහාවට එන්න ගත්තම ඕක දැකල මිනිස්සු කතා හදන්න ගන්නවා, කාන්තාවො හාමුදුරුවන්ගෙ කුටි අස්සට රිංගනව කියල. ඊට පස්සෙ නොයෙක් අපවාද කරගන්නවා. ඊළඟට හැමෝම අවේලාවෙ එන්න ගත්තම ඒක හරි බාධාවක් වෙනවා. අහවලාට අවස්ථාව දුන්න නම් ඇයි අපිට දෙන්නෙ නැත්තෙ කියල අනෙක් කාන්තාවොත් අහන්න ගන්නවා. ඔය වගේ නොයෙක් ප්‍රශ්න එනවා. ඒ නිසා තමයි අපි මෙතැන මාසයකට සෙනසුරාදා දවස් හතරක්, පසළොස්වක පොහොය සහ මාසෙ පොහොය දවසත් හැමෝටම පොදුවේ වෙන් කරල තියෙන්නෙ, ඒ දවස්වල දහම් වැඩසටහන්වලට සහභාගි වෙන්න කියල. ඉතින් කාන්තා පක්ෂයටත් ඒ දවස්වලට ඇවිත් ඒවාට සහභාගි වෙන්න ඉඩකඩ වෙලාව තියෙනවා. එතකොට කාටවත් ගැටළුවක් නෑ...

මේ විදිහට වහරක හාමුදුරුවො කරුණු පැහැදිලි කළත් ඔහු ඒවා එකක්වත් පිළිගත්තෙ නෑ. නැවතත් විශාකා උපාසිකාවගේ කතාව අල්ලගෙන තර්ක කරන්න ගත්තා. කොහොම හරි හාමුදුරුවො කාරුණිකව ඒ ඉල්ලීමට ඉඩ දෙන්න අපහසු බව කියල බොහොම සුහදව ඇහුවා, මහත්තයට මොනවද ඉතින් දැන ගන්න තියෙන්නෙ කියල. එතකොට ඔහු අර නෝනගෙ සිද්ධියත් අල්ලගෙන මෙහෙම කතාවක් කිව්වා.

දවසක් මමයි නෝනයි අපි දන්න කියන ආරණ්‍යයක හාමුදුරුවො නමක් මුණගැහෙන්න ගියා. වෙනත් දවස්වලටත් ඒ විදිහට ගිහින් අපි දහම් සකාච්ඡා කරල එනවා. ඒත් දවසක් අපි යද්දි හුඟක් රෑ වුනා. ඉතින් අපි



ගිහින් ඒ ස්ථානය බලාකියාගෙන ඉන්න උපාසක මහත්තයා අත හාමුදුරුවන්ට පණිවුඩයක් යැව්වා මම නෝනත් එක්ක ඇවිත් ඉන්නව කියල. එතකොට හාමුදුරුවො නැවතත් පණිවුඩයක් එව්වා, දැන් රෑ වෙලා වැඩියි, කාන්තා පක්ෂයේ අයත් ඉන්න නිසා පස්සෙ වෙලාවක එන්න කියල. මට ඒකට හරියට හිත රිදුනා. මොකද මම නිතරම යන එන තැනක්, හොඳට දන්න කියන භික්ෂූන් වහන්සේ නමක්. ඒ නිසා මම නැවතත් පණිවුඩයක් යැව්වා, එහෙනම් මොකද මම යන්නද හැබැයි ආයෙ එන්නෙ නෑ කියන්න කියල. ඊට පස්සෙ ඒ හාමුදුරුවො, හා එහෙනම් එන්න කියන්න කියල උපාසක මහත්තයා අත නැවතත් පණිවුඩයක් එව්වා.

ඉතිං නෝනයි මමයි ගිහින් බිම පැදුරක් එලාගෙන වාඩි වුණා. හාමුදුරුවො උන්වහන්සේගෙ ඇඳ උඩ එරමිණිය ගොතාගෙන දහම් සාකච්ඡා කරන්න පටන් ගත්තා. මමත් ඉතින් දහම් කරුණු පැහැදිලි කරගෙන යනකොට ටික වෙලාවකින් හාමුදුරුවන්ට තේරුණා, මේ මහත්තයා බිම ඉන්න ඕන කෙනෙක් නෙවෙයි උඩ ඉන්න ඕන කෙනෙක් කියල. එහෙම කියල හාමුදුරුවො මොකද කළේ, ඇඳෙන් බිමට බැහැල මට ඇඳ උඩ ඉඳගෙන බණ කියන්න කියල උන්වහන්සේ බිම පැදුරෙන් වාඩි වුණා. මම පැය ගණනක් ඇඳ උඩ ඉඳගෙන උන් වහන්සේට බණ කිව්වා. හාමුදුරුවො පුදුම වෙලා බණ දේශනාව අහගෙන හිටියා. ඊට පස්සෙ මට ප්‍රසංසා කළා...

දැන් ඔහු මහ අහංකාර විදිහට දහමටවත් ගලපන්න බැරි මේ වගේ කතාවක් කියාගෙන ගියා. වහරක හාමුදුරුවොත් කිසිම බාධාවක් කළේ නැතිව නිහඬව අහගෙන හිටියා. ඉතිං ඒ කතාව ඇත්තද බොරුද කියන්න අපි දන්නෙ නෑ. ඇත්ත වුනත් නැතත් ඔහු ඒ කතාව කියල උත්සාහ කළේ, තමන් මේ වගේ විශේෂ කෙනෙක්, ඒ නිසා නෝනත් එක්කගෙන එන්න ඉඩ දෙන්න කියන කාරණය ඒත්තු ගන්වන්න. ඔහු ඒ සඳහා නොයෙකුත් තර්කවාද, උදාහරණ ගෙනහැර දැක්වුවා. ඇයි මගේ නෝනත් මේ බණ පදයක් අහනවට ඔබ වහන්සේ කැමති නැත්ද? කාන්තාවන්ට එහෙම වෙනස් කරල සලකනවද?... ඔය ආදී වශයෙන් තර්ක ගොඩක් ඔහු මතු කළා. කොහොම හරි ඒ සියල්ලටම වහරක හාමුදුරුවො සාවධානව අහගෙන ඉඳල කෙටියෙන් කරපු ධර්මානුකූල පැහැදිලි කිරීම් ඔහු පිළිනොගත්ත නිසා අන්තිමට උන්වහන්සේ ඒ ගැන කතා නොකර නිහඬ වුණා. ඊට පස්සෙ උන්වහන්සේ බොහොම අහිංසක විදිහට හිනාවෙලා ඇහුවා, මහත්තය ඉතින් ආවෙ මොනවහරි දැනගන්නද කියල. එතකොට මේ මනුස්සයා පංචස්කන්ධය සහ පංච උපාදානස්කන්ධය ගැන ප්‍රශ්නයක් ඇහුවා. වහරක හාමුදුරුවො ඒ ගැන පැහැදිලි ධර්මානුකූල විග්‍රහයක් කරගෙන යනකොට, ඔහු තමන්ගෙ ගමන් මල්ල (විසාල බ්‍රීෆ් කේස් එකක්) ඇරල ත්‍රිපිටක පොතක් අරගෙන පෙරළල කියනවා, ඔබ වහන්සේ පංචස්කන්ධය සහ පංච උපාදානස්කන්ධය විග්‍රහ කරනවා වැරදියි, ත්‍රිපිටකයේ තියෙන්නෙ මෙහෙමයි කියල. ඒ කියන්නෙ මේ දැන් කරන දහම් විග්‍රහය නෙවෙයි, ඒ දවස්වල අර රූපවාහිනී නාලිකාවෙන් විකාශනය කරපු දේශනාවක් ගැනයි මේ කියන්නෙ.

ඉතින් හාමුදුරුවොත් ඒ කතාවට සාවධානව අහගෙන ඉඳල අන්තිමට කියනවා, ඔව් මහත්තයා එහෙම වචන පටලැවීමක් වෙන්න පුළුවන්, එක දිගට කියාගෙන යනකොට සමහර විට මොනවහරි බාධකයක් නිසා පටලැවෙන්න පුළුවන්, ඇත්ත වශයෙන්ම එහෙම කියවුනා නම් ඒක වැරදි තමයි කියල. උන්වහන්සේ වචනයක අඩුපාඩුව හරි ඒ විදිහට නිහතමානීව පිළිගත්තා. ඒ කියන්නෙ ඒ දහම් දේශනාවෙදි පංචස්කන්ධය සහ පංච උපාදානස්කන්ධය පැහැදිලිව ධර්මානුකූලව විග්‍රහ කළත්, ඒ වචන දෙක දෙපැත්ත මාරුවෙලා කියවිච්ච අවස්ථාවක් තමයි මේ වැරදි විදිහට පෙන්නුවෙ. ඔන්න ඔය වගේ ඉස්පිලි පාපිලි, වචනයක් දෙකක් පටලැවිච්ච දෝස කිහිපයක් තමයි ඔහු මුළු ධර්ම දේශනාව පුරාවටම මහා ලොකු අඩුපාඩු විදිහට ලකුණු කරගෙන ඇවිත් පෙන්නුවේ.

වහරක හාමුදුරුවො ඒ පුංචි අඩුපාඩුවත් නිහතමානීව පිළිගත්තට පස්සෙ, ඔහු තමන් ජයගත්තා කියන හැඟීමෙන් බොහොම උද්දාම වෙලා කෙළවරක් නැති ප්‍රශ්න අහන්න ගත්තා. හැබැයි ප්‍රශ්න අහල ඔහුම පිළිතුරුත් දෙනවා. හාමුදුරුවො නිහඬව අහගෙන ඉන්නවා. ඔය විදිහට සාකච්ඡාව යන අතරේ මේ මනුස්සයා පිටිපස්ස හැරිල සැරින් සැරේ මගේ දිහාත් බලනවා. අන්තිමට මනුස්සයා අහන ප්‍රශ්නවලට හාමුදුරුවො මොකුත් නොකිය නිහඬව අහගෙන හිටියා. උත්තර දෙන්න ගියේ නෑ. හැබැයි උන්වහන්සේගේ මුහුණේ කිසිම අමුත්තකුත් නෑ. උන්වහන්සේ ඒ වෙලාවෙ හිටපු විදිහට මටත් හරි පුදුම හිතුනා. මේ තරම් අවබෝධයක්, දේශනා ශක්තියක් තිබිලත් ඇයි මේ මනුස්සයට උත්තර දෙන්නෙ නැතිව නිහඬව ඉන්නෙ කියල මුලින් එහෙම හිතුනත්, පස්සෙ මමත් තේරුම් ගත්තා මේ අවස්ථාවෙ හැටියට ඒ ක්‍රමය හරි කියල. ඔය අතර පන්සලේ උපාසක මහත්තයෙක් තේ දෙකක් හදාගෙන ඇවිත් අපිට පිළිගැන්නුවා. ඒත් ඔහු ඒ තේ එක නොබී පැත්තකින් තිව්වා. එතකොට හාමුදුරුවො හෙමිහිට දැහැත් විටක් වළඳන්න ගත්තා. ඒත් එක්කම මේ මනුස්සයා නොරිස්සුම් ගතියකින් හාමුදුරුවන්ට මෙහෙම කියනවා.

ඔබ වහන්සේ බුලත් විටත් කනවද? ඔබ වහන්සේ ගිලන්පස වළඳන්නෙ නැති නිසා අපි මේ ආචාර ධර්මයක් වශයෙන් අපිට දුන්න තේ එකවත් බොන්නෙ නැතිව ඉන්නවා. සාමාන්‍යයෙන් කෙනෙක් බලාගෙන ඉඳෙද්දි තව කෙනෙක් කනබොන සිරිතක් මනුස්සයො වශයෙන් නැති නිසා අපි එහෙම කළත්, දැන් ඔබ වහන්සේ අපි බලාගෙන ඉඳෙද්දිම තනියෙන් බුලත් විට හපනවා... ඔහු මේ විදිහට දෝසාරෝපණයකුත් කරල හාමුදුරුවන්ගෙන් අහනවා, දැන් ඔය බුලත් විට හැපීමෙන් ඇති ප්‍රයෝජනය මොකක්ද, මොකටද ඕක ගන්නෙ කියල. එතකොට හාමුදුරුවො කිසිම කලබලයක් නැතිව බොහොම අහිංසක විදිහට කියනවා, මහත්තයෝ මේ බුලත්විට ගන්නකොට එක්තරා ප්‍රබෝධයක් එනවා, කාන්සි ගතිය දුරුවෙලා ස්නායු ප්‍රබෝධමත් වෙලා දේශනාවට එක්තරා ආකාරයක පහසුවක් ලැබෙනවා කියල..

හැබැයි ඔහු හාමුදුරුවන්ට ඒ ගැන වැඩිය කතාකරන්න ඉඩ දුන්නෙ නෑ, දොස් කියන්න ගත්තා. හුණු, දුම්කොළ කියන්නෙ මත්වෙන ජාතියක්, ඒක ගන්න එක හොඳයිද, පිළිකා හැදෙනවා කියල හැමෝම දන්නවා... ඔය ආදී වශයෙන් කියන්න ගත්තා. වහරක හාමුදුරුවො ඒ සියල්ලම නිහඬව අහගෙන හිටියා. මුකුත් කියන්න ගියේ නෑ. ඒත් එක්කම ඔහු තමන්ට ලබාදුන්න තේ කෝප්පය අනෙක් අයටත් පේන්න එලියට ගිහින් විසිකළා. ඊට පස්සෙ නැවතත් ඇවිත් වාඩිවෙලා, මේ තියෙන්නෙ මම ගැන වෘක්ෂ දේවතාවෙක් කියපු කතාවක්, මම පෙර අත්බැව්වල මේ විදිහෙ

ජීවිත ගත කරල තියෙනවා, මේ වගෙ විශේෂ කෙනෙක්... ආදී වශයෙන් විග්‍රහ කරමින් ඔහු තමන් ගැනම විස්තර කරපු පත්‍රිකා වගයකුත් හාමුදුරුවන්ට දුන්නා. ඒ කියන්නෙ තමන්ගෙ මහන්තත්වය පෙන්වන්න තමයි ඒ පත්‍රිකා ටික දුන්නෙ. හාමුදුරුවො ඉතින් සාමාන්‍ය විදිහට හිනාවෙලා ඒ ටිකත් බාර අරගෙන නිකමට ඇහුවා, මහත්තයා මේ තොරතුරු දැනගත්තෙ කොහොමද කියල. එතකොට ඔහු කියනවා, වෘක්ෂ දේවතාවෙක් ඇවිත් තමයි මට මේ ඔක්කොම කිව්වෙ, මේ පත්‍රිකාත් මගෙ වියදමින් මුද්‍රණය කරපු ඒවා නෙවෙයි, මේවායේ තියෙන වටිනාකම දැකල මගෙන් බණ අහන තවත් අය ඉදිරිපත් වෙලා සකස් කරල දුන්න කියල. එතකොට හාමුදුරුවො මොකුත් කියන්න ගියේ නෑ, නිහඬව හිටියා.

දැන් ඔහු තමන්ගෙ දහම් දැනුම ගැනත්, තත්වය ගැනත් තවත් විස්තර කියල අන්තිමට යන්න පිටත් වෙලා හාමුදුරුවන්ට මෙහෙම කියනවා. “මම හිතනවා ඔබ වහන්සේ මගෙන් යමක් ඉගෙන ගත්ත කියල. මගෙන් ඔබ වහන්සේට තව මොනවද දැන ගන්න ඕන?” එතකොට වහරක හාමුදුරුවො ඒකටත් කිසිම අමනාපයක් විරුද්ධත්වයක් පෙන්වන්නෙ නැතිව සාමාන්‍ය විදිහට නිහඬව හිටියා. මේ විදිහට ටික වෙලාවක් නිහඬව ඉන්න කොට ඔහු නැගිටල, එහෙනම් අපි යන්නම් කියල හාමුදුරුවන්ට ආචාර කරල මිදුලට ගිහින් මගේ දිහා බලාගෙන ඉන්නවා. මමත් ඉතින් නැගිටල කෝප්පයත් හෝදල තියල හාමුදුරුවන්ට වැඳල වචනයක් දෙකක් කතා කරල එන්න පිටත් වුණා. ඒ විනාඩි දෙක තුනටත් මේ මනුස්සයා කේන්තියෙන් මිදුලට වෙලා මගේ දිහා බලාගෙන ඉඳල කියනවා, අපි මේ එකට ආව නිසා ඔබත් එනකල් මම මෙතැනට වෙලා තවම බලාගෙන ඉන්නවා, මගේ කාලය නාස්ති වෙනව කියල. හරියට පැය ගණනක් රස්තියාදු වුනා වගේ තමයි ඔහු ඒ කතාව කිව්වෙ. හාමුදුරුවන්ට වැඳල වචනයක් දෙකක් කතා කරල එන විනාඩි දෙක තුනට තමයි ඔහු එහෙම කතාවක් කිව්වෙ.

දැන් ඔහු උඩ ඉඳන් පහළට බහින ගමනුත් මගෙන් අහනවා, ඔබ තවමත් රැවටිලාද ඉන්නෙ කියල. ඊට පස්සෙ නැවත යන්න පිටත් වෙන්න වාහනය පණ ගන්වන්න හදන කොට ඒක පණ ගන්වන්න බැරුව ගියා. හතර පස් වතාවක් විතර උත්සාහ කළත් ඒත් බැරි වුණා. දැන් ඔහු ටිකක් කලබලයෙන් සහ නොරිස්සුම් ගතියකින්, කවදාවත් මෙහෙම වෙලා නෑ කිව්වා. එතකොට මම කිව්වා, කවදාවත් නොවෙච්ච දේවල් අද වෙන්න පුළුවන් කියල. කොහොමහරි අන්තිමට පන්සලේ හිටපු තවත් කිහිප දෙනෙකුත් ඇවිත් තල්ලුවක් දාල තමයි වාහනය පණගන්වා ගත්තෙ.



මහා සංඝරත්නයට පිරිකර පූජා කරන අවස්ථාවක්

දැන් ඉතින් මෙහෙම යන අතර මගදි ඔහු තමන්ගෙ නෝනටත් කියනවා, ඔන්න මම මෙයාගෙ හාමුදුරුවන්ව හැරෙන්න බැරි වෙන්න පැරැද්දුව කියල. එහෙම කියන ගමන් මගෙන් අහනවා, තවමත් රැවටිලාද ඉන්නෙ කියල. දැන් ඔහු වාහනයේ යන ගමනුත් මේ සිද්ධිය ගැන බොහොම උද්දාමයෙන් කතා කරනවා. ඔහුගෙ නෝනත් බොහොම සන්තෝසෙන් අහගෙන ඉන්නවා. ඔහු මගෙන් අහනවා, දන්නවද සාකච්ඡාව යන අතරේ මම සැරින් සැරේ පිටි පස්ස හැරිල ඔබේ මුහුණ දිහා බැලුවෙ ඇයි කියල. මම කිව්වා, ඒක ඉතින් මම දන්නෙ කොහොමද ඔබ තුමාමනේ දන්නෙ කියල. ඒ පාර ඔහු කියනවා, මම හාමුදුරුවන්ගෙන් ප්‍රශ්න අහල උන්වහන්සේට උත්තර දෙන්න බැරිව හිර වෙනකොට මට ඔබේ මුහුණෙ හැටි බලාගන්න ඕන වුනා, ඒකයි මම එහෙම බැලුවෙ කියල. ඒ කියන්නෙ ඔහු අහන ප්‍රශ්නවලට වහරක හාමුදුරුවන්ට උත්තර දෙන්න බැරිව, මමත් අපහසුතාවයට පත්වෙලා මගේ මුහුණෙ ඉරියව්ව බලාගෙන ඒකෙනුත් ආස්වාදයක් ගන්න තමයි ඔහු අර විදිහට බලල තියෙන්නෙ. ඉතින් මමත් ඇහුවා, ඇයි මහත්තයට මගේ මුහුනෙන් ඒ වෙලාවෙ අමුත්තක් එහෙම දැනුනද කියල. නෑ එහෙම වෙනසක් තියෙනවද කියල දැනගන්නයි මට අවශ්‍ය වුනේ කිව්වා. ඒත් එක්කම ඔහු මගෙන් අහනවා, ඔබ දැක්කද මම හාමුදුරුවන්ට වඳිනවා කියල. මම කිව්වා, ඉස්සෙල්ල ආපු හැටියෙ නම් වඳිනව දැක්කා, යන්න පිටත්වෙලා නම් වඳිනව දැක්කෙ නෑ කියල. නෑ නෑ පිස්සුද මම කොයි වෙලාවකවත් වැන්දෙ නෑ, ආචාර කළා විතරයි කියල බොහොම ආඩම්බරයෙන් වැන්දෙ නැති එකත් ලොකුකමක් හැටියට තමයි ඔහු කතා කළේ.

ඊළඟට ඔහු හාමුදුරුවො දැහැත් විට වැළඳීම ගැනත් තදබල විදිහට විවේචනය කළා. අපිට තේ ගෙනත් දීලා ඒ වෙලාවෙ උන්වහන්සේ ගිලන්පසවත් ගත්තෙ නැති නිසා මම තේ එක බිව්වෙත් නෑ. උන්වහන්සේ අපි බලාගෙන ඉඳෙද්දිම විට හපන්නත් ගත්ත කියල ඔහු නැවතත් ඒකට දොස් කියන්න ගත්තා. එතකොට මම මෙහෙම කිව්වා. ඔය මහත්තයටයි මටයි තේ දෙකක් ගෙනත් දුන්නෙ ආගන්තුක සත්කාරයක් වශයෙන්. ඉතින් ඔබතුමා ඒක ගත්තෙ නැතිවට උන්වහන්සේ මොනව කරන්නද? එතකොට උන්වහන්සේ දැහැත් විට වළඳන්න ගත්තා. නමුත් ඔබතුමා විට කන කෙනෙක් නෙවෙයි, ඒකට දොස් කියනවා. ඉතින් බුලත් විට කන්නෙ නැත්නම් ඔබතුමාට බුලත් විට පිළිනොගැන්නුව කියල ඒකට දොස් කියන එක සාධාරණද? භික්ෂූන් වහන්සේලා සාමාන්‍යයෙන් දැහැත් විට වැළඳීම එදා ඉඳන්ම තියෙන සිරිතක්. දායකයොත් හාමුදුරුවන්ට දැහැත්විට පිළිගන්වනවා. ඒක අමුතු දෙයක්, නරක දෙයක් නෙවෙයි. නාගවල්ලී දලූපේතං... ආදී වශයෙන් තෙරුවන් උදෙසා දැහැත් විට පූජාව කියල දේකුත් තියෙනවා. උන්වහන්සේ එක්තරා ආකාරයකට විඩාව දුරුකරගන්න, දේශනාවට ප්‍රබෝධය ඇතිවෙන්න කියල දැහැත් විටක් ගත්තා. මහත්තයට ඒක අවශ්‍ය නැති නිසා මහත්තය විට කන්නෙ



නෑ. මේ විදිහට එක එක්කෙනාගෙ අවශ්‍යතාවයන් වෙනස් වෙනවනේ! ඉතින් අවශ්‍යතාවය තියෙන කෙනා ඒක ගන්නවා, නැති කෙනා නිකං ඉන්නවා...

මම මෙහෙම කිව්වම ඔහු තර්ක කරනවා, එහෙම අවශ්‍යතාවය තිබුණ පලියට අනෙක් අය බලාගෙන ඉඳෙද්දි තමන්ගෙ අවශ්‍යතාවය ඉෂ්ඨ කරගන්නවද, ඒක ගැලපෙන්නෙ නෑ කියල. එතකොට මම මෙහෙම උත්තරයක් දුන්නා. හොඳයි මහත්තයා දැන් අපි මෙහෙම ගමනක් යනකොට මහත්තයට තදබල මුත්‍රා බරක් හැදෙනවා. එතකොට ඒක මහත්තයගෙ අවශ්‍යතාවයක්. හැබැයි ඒ වෙලාවෙ මට එහෙම අවශ්‍යතාවයක් නෑ. ඒත් මට දැන් ඒ වගේ අවශ්‍යතාවයක් නෑ කියල, මහත්තයගෙ අවශ්‍යතාවය ඉෂ්ඨ කරගන්නෙ නැතිව මුත්‍රා බර ඉවසගෙන ඉන්නවද කියල මම ඇහුවා. එතකොට ඔහුට කේන්ති ගිහින් කළබල වෙලා, එහෙම හැම උදාහරණයක්ම ගන්න බෑ කිව්වා. එතකොට මම මෙහෙම කිව්වා. මහත්තයා කියන හැමදෙයක්ම හරි, මම කිව්වොත් විතරක් ඒක වැරදියි! ඒකෙ සාධාරණත්වය මොකක්ද? ඉදමේව සච්ඡං මෝඝ මඤ්ඤං කියල, තමන්ගෙ අදහස විතරයි හරි අනෙක්වා වැරදියි කියන මතය බුදු හාමුදුරුවොත් අනුමත කරල නැනේ! මම එහෙම කිව්වම ඔහු කියනවා, දහම් කාරණා ඔප්පු කරන්න ලෞකික උදාහරණ ගන්න බෑ කියල. මේ විදිහට ඔහු තමන් කියන එක විතරයි හරි, අනෙක් ඒවා වැරදියි කියන තැන ඉඳගෙන ඒකම ඔප්පු කරන්න තමයි නිතරම උත්සාහ කළේ.

දැන් ඉතින් මෙහෙම යනකොට කිරිඳිවෙල ප්‍රදේශයේ ටිකක් පාලු පොල් රුප්පාවක් තියෙනවා. අන්න ඒ ස්ථානයේදි මහා කළු බල්ලෙක් කොහෙන් ආවද කියල හිතාගන්නත් බෑ එකපාරටම වාහනයට පැන්නා. මනුස්සයා බොහොම අමාරුවෙන් කරකවල ඒකත් බේරගත්තා. ඊට පස්සෙ තව ටික දුරක් යනකොට ඔහු මගෙන් අහනවා, මගේ හිතවතෙක් ඉන්නවා මේ ළඟපාත, අපි එහේටත් ගොඩවෙලා මේ විස්තරය කියල යමු ඔබට පරක්කු වෙනවද කියල. මම කිව්වා මහත්තයගෙ කැමැත්තක් කරන්න කියල. ඒ පාර නෝනයි මහත්තයයි දෙන්නම හිනාවෙවී ඒ ගෙදරටත් ගියා. කතා කළ නිසා මමත් ඒ අයත් එක්කම ගියා. යනකොට ඒ ගෙදර බිරිඳ ඇවිත් මේ අයව හඳුනගත්තා. දැන් මොහු අහනවා, කෝ මහත්තය කියල. ආ... මහත්තය මේ දවස්වල ටීවී එකේ ගිය බණක් අහල ඔන්න එහා පැත්තෙ කුටියක් හදාගෙන භාවනා කරනව කිව්වා. එතකොට මනුස්සය ටිකක් ගැස්සිලා, කාගෙ බණක්ද කියල ඇහුවා. මම නම් දන්නෙ නෑ කිව්වම, පොඩ්ඩක් කතා කරන්නකො කිව්වා.

ඊට ටික වෙලාවකට පස්සෙ ඒ ගෙදර මහත්තයත් භාවනා කර කර ඉඳල සාලයට ඇවිත් හිනාවෙවී ඔවුන්ව දැන හඳුන ගත්තා. මොකක්ද මේ කරන භාවනාව කියල විස්තර ඇහුවම ඔහු ඒ ගැන මෙහෙම කියන්න ගත්තා. මේ පහුගිය දවසක මම අහම්බෙන් ටීවී එක දානකොට ටිකක් අමුතු බණක් ගියා. වෙනදා නැති මොකක්දෝ අමුතු සුවයක් ඒ බණ ඇහුවම මගේ හිතට දැනුනා. හැබැයි වැඩි වෙලාවක් නම් ගියේ නෑ. මම හනිකට දුවල ගිහින් කැසට් එක දාල පුළුවන් විදිහට පටිගත කරගත්තා. ඔය විදිහට දෙවැනි දවසෙත් පාන්දර ඒ හාමුදුරුවන්ගෙම බණක් ගියා. මම ඒකත් පටිගත කරගෙන ළඟ තියෙන තැනකට ගිහින් හොඳ කැසට් පටියකට අරගත්තා. උන්වහන්සේ මූණ ගැහෙන්නත් ආස හිතුනා. හොයල බලන කොට මේ වැඩි ඈතක නෙවෙයි ඉන්නව කියන්නෙත්. ඉතින් මම ඒ බණ ටික නැවත නැවත අහන ගමන් භාවනා කරන්න පටන් ගත්තා...

ඒ ගෙදර හිතවතා මෙහෙම කිව්වම, මේ මනුස්සය බොහොම කලබලෙන් සහ කුතුහලයෙන් අහනවා කවුද ඒ හාමුදුරුවො කියල. මේ වහරක පැත්තෙ මෙහෙම හාමුදුරුවො නමක් කියල කියන කොටම, මේ මනුස්සය අමුතු විදිහට හිනාවෙලා මගේ දිහා බලල අහනවා, මොකද මම විස්තරේ කියන්නද කියල. මම කිව්වා, ඉතින් මහත්තය මේ ගෙදරට ගොඩ වැදුනෙත් ඕකටනේ කැමති දෙයක් කියන්න, හැබැයි ඒ එකකටවත් මගේ නම් සම්බන්ධයක් නෑ කියල. දැන් මේ මනුස්සයා හරිබරි ගැහිල මාවත් පෙන්වල කියනවා, මෙන්න මෙයා තමයි අපිට ඔය හාමුදුරුවන්ව මූණ ගැහෙන්න යමු කියල කිව්වෙ, අපි දැන් මේ එහේ ගිහින් එන ගමන්, එතැනින් ගන්න කිසිම දෙයක් නෑ, මම අහපු ප්‍රශ්නවලටත් ඒ හාමුදුරුවන්ට උත්තර දීගන්න බැරි වුණා කියල. එහෙම කියල ඒ ගෙදර මහත්තයගෙන් අහනවා, හොඳයි ඔබට ඒ බණ අහල ඔය කියන තරම් දැනිච්ච වෙනස මොකක්ද කියල. මට එහෙම වචනවලින් කියාගන්න නම් තේරෙන්නෙ නෑ, ඒ බණ ටික අහල කවදාවත් නැති පුදුම විදිහෙ මානසික සුවයක් නම් දැනුනා, ඒ හාමුදුරුවො පුදුම වේගයකින් බණ කියාගෙන ගියේ, ඒත් කියන දේ හොඳට තේරෙනවා, ඒ ලබපු මානසික සුවය මට තවම තියෙනවා කියල ඒ මහත්තය කිව්වම මේ මනුස්සය නැවතත් අහනවා, හොඳයි වැටහිච්ච එක දෙයක් කියන්නකො කියල. ඔහු නැවතත් කිව්වා, මට ඒ වචනවලින් කියන්න නම් තේරෙන්නෙ නෑ, ඒත් මට මානසික වශයෙන් ලොකු වෙනසක් දැනුන කියල.

ඊට පස්සෙ නැවතත් කියනවා, අහපු එක වචනයක් හරි කියන්න කියල. ඒ පාර ඒ මහත්තය කියනවා, මට අනිච්ච කියන වචනය නම් තේරුනා කැමති සේ නෑ කියල, අන්න ඒ වචනය නිසා හරි අමුත්තක් හිතට දැනුන කියල. දැන් මේ මනුස්සයට කට උත්තරත් නැතිව ගියා. ඒ පාර ඔහුට කියන්න දෙයක් නැති නිසා දැන් කියනවා, ඒ වුනාට ඒ හාමුදුරුවො බුලත් විට කනවනේ කියල. බුලත් විටක් කෑව කියල ඉතිං ඒකෙ වරදක් නෑනෙ, දැහැත් විට පූජාව කියල එකක් කොහොමත් තියෙනවනෙ කියල අර මහත්තය කිව්වම ඔහු නැවතත් කියනවා, දැහැත් විටට දුම්කොළත් ගන්නවා, ඒක හොඳ දෙයක්ද කියල. දුම්කොළ ඉතින් කොහොමටත් විටට ගන්නවනේ කිව්වම ඔහු අහනවා, නිතර නිතර වැඩිපුර දුම්කොළ ගන්න එක හොඳ දෙයක්ද කියල. ඔව් ඉතිං නිතර නිතර භාවිතා කිරීම නම් ශරීර සෞඛ්‍යයට අහිතකර වෙන්න පුළුවන් කියල ඒ මහත්තය උත්තර දුන්න මිසක් ඊට එහා දෙයක් කියන්න ගියේ නෑ (බුලත් විටේ ඇති ඖෂධීය ගුණ සම්බන්ධයෙන් පැහැදිළි කෙරෙන ලිපියක් හෙළ බොදු පියුම 19 වන කලාපයේ පළ කරල තියෙනවා).

දැන් මේ මනුස්සයට හරි වැඩේ වුණේ. වහරක හාමුදුරුවන්ගෙ අඩුපාඩු කියන්න ගිහින්, තමන්ගෙ හිතවතෙකුගෙ ගෙදරට ගොඩවෙලා අන්තිමට ඔහුව තමන්ගෙ මතයට නම්ම ගන්න බැරි වුණා. ඒ පාර වහරක හාමුදුරුවන්ට දොස් කියල එතැනිනුත් පිටත් වුණා. එන ගමනුත් ඔහු තමන්ගෙ දහම් දැනුම සහ වහරක හාමුදුරුවන්ගෙ අඩුපාඩු තමයි කිව්වෙ. මමත් ඉතින් අඬන්න ඉන්න මිනිහට ඇඟිල්ලෙන් අනින්නෙ මොකටද කියල සද්ද නැතිව ඔහු කියන දේ අහගෙන හිටිය මිසක් වැඩිය උත්තර දෙන්න ගියේ නෑ. ඔහොම යනකොට කඩුවෙල ප්‍රදේශයේ

මාර්ග අළුත් වැඩියාවකට යොදල තිබුණ මාර්ග බාධකයකත් හැප්පෙන්න ගිහින් එතැනිනුත් කොහොමහරි යන්තමට බේරුනා. අන්තිමට මාව ඇරලල, එහෙනම් සාකච්ඡාවෙ පටිගත කරපු පිටපතක් මටත් දෙන්න කියල තමයි ගියේ.

ඊට ටික වෙලාවකට පස්සෙ වහරක හාමුදුරුවො මට දුරකථන ඇමතුමක් දීල හිනාවෙලා අහනවා, මහත්තයා ගෙදරට ආවද කියල. මම කිව්වා, හාමුදුරුවනේ බොහොම අමාරුවෙන් ආවා, අතර මගදී මෙන්න මේ වගේ සිද්ධි ගණනාවක් වුණා කියල. හාමුදුරුවො කියනවා, ඒ මනුස්සය දහම ගන්න ආව කෙනෙක් නෙවෙයි, තමන්ගෙ දැනුම පෙන්වන්න ආපු කෙනෙක්, ඒකයි මම සද්ධ නැතිව නිහඬව ඕන දෙයක් කියපු දෙන් කියල හිටියෙ, නැත්නම් තවත් වහගන්නව කියල.

ඉතින් මේ සිද්ධියෙන් දින කිහිපයකට පස්සෙ මේ මනුස්සය මට කතා කරල ඒ සාකච්ඡාව පටිගත කරපු හඬපටියේ පිටපතක් ඉල්ලුවත් පුදුම වැඩේ කියන්නෙ, හාමුදුරුවන්ගෙ හඬ විතරයි හොඳට ඇහෙන්න පටිගත වෙලා තිබුණෙ. ඒ මනුස්සයා කියන ඒවා හරියට පටිගත වෙලත් නෑ. මොනවා කියනවද කියල හරියට ඇහෙන්නෙත් නෑ. ඔහු දින කිහිපයක්ම ඒ විදිහට ඒ පටිගත කිරීම ඉල්ලුවත්, මම කිව්වා දෙන්න තරම් දෙයක් ඒකෙ පටිගත වෙලා නෑ කියල. මොකද ඔහුට ඕන වුනේ ඒක ගෙනිහින්, දන්න කියන හැමෝටම අහන්න සලස්වල තමන් වහරක හාමුදුරුවන්වත් පැරැද්දුවා කියල යම්කිසි තැනක් ගන්න. හැබැයි මේ මනුස්සයා ගෙදර ගිහිල්ලත් නිකං හිටියෙ නෑ. වටපිටාවෙ ඉන්න අයටත් මේ සිද්ධිය කියල, තමන් වහරක හාමුදුරුවන්ව පැරැද්දුවා කියල බොහොම උද්දාමයෙන් කියල තිබුණා. ඒ කතාව අහල ඒක ඇත්තද කියල බලන්න ඔහුගෙ ගෙදර අල්ලපු වැටේ හිටපු තරුණයො හතර පස් දෙනෙකුත් පහුවදාම වහරක හාමුදුරුවන්ව මුණගැහෙන්න ඇවිත් තිබුණා.

ඒ අය වහරක හාමුදුරුවන්ව මුණගැහිල, මෙන්න මෙහෙම අපේ ගමේ මහත්තයෙක් ඔබ වහන්සේව මුණ ගැහිල ඇවිත් මේ වගේ කතාවක් කිව්ව කියල ඒ ගැන විස්තර කිව්වම, හාමුදුරුවො ඒ තරුණ පිරිසට මොනවහරි දහම් ගැටළු තියේනම් අහන්න කියල නිවන් දකින බණක් දේශනා කරල තිබුණා. ඒ අය තමන්ට තිබුණ සියළුම දහම් ගැටළුත් නිරාකරණය කරගෙන, පැය ගණනාවක දහම් සාකච්ඡාවකුත් කරල හොඳටම පැහැදිලා ගමට ඇවිත් අර මහත්තයත් එක්කත් කියල තිබුණා, අපිට නම් හරි දහම අහන්න ලැබුණ කියල. ඒ අවස්ථාවෙදිත් ඔහුට කට උත්තර නැතිව ගියාලු. ඊට පස්සෙ දවසක ඒ ප්‍රදේශයේ තේ කඩයක වහරක හාමුදුරුවන්ගෙ පටිගත කරපු බණ දේශනාවක් දාල තියෙන කොට, මේ මනුස්සයට ඕක ඇහිල කඩේ මුදලාලිට ඇවිත් කියනවලු, අහුවෙන්න නම් එපා කියල. බලාගෙන යනකොට මේ මනුස්සයා ..... කියන එක්තරා කණ්ඩායමක ප්‍රධානියෙක්. ඔවුන් හාමුදුරුවරුන්ටත් දොස් කියනවලු, කිසිම සීලයක් නෑ, පන්සල් හද හදා ඉන්නවා, හාමුදුරුවරු වුණාම ආරණ්‍යවල විතරයි ඉන්න ඕන... ආදී වශයෙන් කියල. අර කියපු තරුණ පිරිසත් මුලින්ම ඔහුගෙ අනුගාමිකයො වශයෙන් ඒ අදහස් පිළිඅරගෙන තමයි ඉඳල තියෙන්නෙ. නමුත් පස්සෙ වහරක හාමුදුරුවන්ගෙන් බණ අහල ඒ අදහස් සම්පූර්ණයෙන්ම වෙනස් වුණා.

කොහොමහරි මේ සිද්ධියෙන් ටික දවසකට පස්සෙ මමත් කල්පනා කරල හොයල බැලුවා, එදා ඒ රූපවාහිනී නාලිකාවේ ගිය බණ දේශනාවේ පැටලිච්ච තැන මොකක්ද, කොහොමද ඒක වුනේ කියල. මොකද ඒ පටිගත කිරීම කළේ වහරක පන්සලේ. මමත් ඒ පටිගත කිරීම් කරපු තැන හිටිය නිසා ඒ ගැන යමක් දැනගෙන හිටියා. ඒ වෙලාවෙ ඒ ස්ථානයේ හිටපු තවත් කිහිපදෙනෙක් එක්කත් කතා කරනකොට තමයි එක්තරා සිද්ධියක් කල්පනාවට ආවෙ. ඒ දේශනාව පටිගත කරන අතරතුර ඒ පන්සලේ වැඩහිටපු එක්තරා අසනීප හාමුදුරුවො නමක්, පටිගත කිරීමක් කරනව කියල දන්නෙ නැතිව ඒ මැද්දෙන් මොනවහරි කියාගෙන යන්න ගියා. එතකොට තමයි වහරක හාමුදුරුවන්ගෙ සමාධියට බාධා වෙලා අර වගේ වචන පටලැවීමක් සිද්ධ වෙලා තිබුණෙ. මොකද සමාධියට (ප්‍රථම ධ්‍යාන) ශබ්දය කටු ඇනේ කියන කාරණයත් වහරක හාමුදුරුවො නිතර නිතර දේශනා කරන දෙයක්. ඒ කාරණය දහමෙත් සඳහන් වෙනවා.

ඉතින් කොහොම හරි මේ සම්බන්ධයෙන් දවසක් වහරක හාමුදුරුවන්ව මුණගැහිල කතා කරන කොට උන්වහන්සේ බොහොම නිහතමානිව මෙහෙම කියනවා. **වචනයක්වත් වරදින්නෙ නැතිව අඩුපාඩු වෙන්නෙ නැතිව බණ කියන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේට විතරයි. ඊට මෙහා ඉන්න අයගෙන් වචන පටලැවීම්, අතපසු වීම් වෙන්න පුළුවන්. හැබැයි දහම් අවබෝධය ලබපු අය අතින් වචන පැටලුනාට, නිවන් මග වැරදියට විග්‍රහ වෙන්නෙ නෑ. සමහරවිට මෙහෙම කියාගෙන යනකොට වචනයක් දෙකක් පැටලෙන්න පුළුවන්. මොකද සර්වඥයන් වහන්සේට විතරයි එහෙම වචන පැටලෙන්නෙ නැතිව මොහොතක් ගානෙ සිහි නුවණින් යුක්තව දේශනා කරන්න පුළුවන්. ශ්‍රාවකයින්ට ඒ හැකියාව පිහිටන්නෙ නෑ. සමහර වෙලාවට කියාගෙන යනකොට වචන පැටලිලා කියන්න හදපු එක නෙවෙයි වෙන එකක් කියවෙන්න පුළුවන්. ඉතින් එහෙම වචනයක් අල්ලගෙන විවේචනය කරනව මිසක්, දහම් අවබෝධය ගන්න අයට මේ දේශනාවල විවේචනය කරන්න තරම් දෙයක් ඉතිරි වෙන්නෙ නෑ. එහෙම වචනවල අඩුපාඩු අල්ලගෙන විවේචනය කිරීමත් ධර්මානුකූල නෑ කියල ධර්මයේම පෙන්වා තියෙනවා...**



පැවිදි පිංකමකට සම්බන්ධ වී

ඒ වගේම තමයි කාන්තා පක්ෂයට භික්ෂූන් වහන්සේලාගේ කුටි දිහාවට එන්න එපා කියල දැන්වීම්

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

**31 වන කොටස**



අභව්‍ය සත්වයන් යනු, නැති බව හිතට ගෙන දුක්වෙන අයයි. රහතන් වහන්සේට භව්‍ය අභව්‍ය හැඟීම් නැත. මේ පිළිබඳව උදාහරණ පෙළපොත්වලින් දැක්විය හැක.

<u>සූත්‍ර නිපාතය - 857 ගාථාව</u>

කාමයන්ට අපේක්ෂාව නැතිව උපශාන්ත වූවෙකියි ඔහුට කියමි. ඔහුගේ බැඳුම් විද්‍යමාන නොවේ. හේ විවිධ ආසාවන්ගෙන් එගොඩ විය. ඔහුට පුතුන්, ගවයන් හෝ කෙත් වස්තුව හෝ නොමැත. තමන් ඉන් ඇතැයි හෝ නැතැයි හෝ යන්න නොලබයි.

<u>සංයුක්ත නිකාය (1) - චන්දිමස සූත්‍රය - 98 පිටුව</u>

සඳ දෙව් පුත් (චන්දිමස) යනු දේව කොට්ඨාසයක් බවට සාක්ෂියකි. ජේතවනාරාමයට පැමිණි සඳ දෙව් පුත්‍රයෙක් බුදු රජාණන් වහන්සේ ඉදිරියේ කළ ප්‍රකාශයක් සඳහන් වේ.

<u>අධි වචන</u> (යම් කිසි කාරණයක් හැඳින්වීමට යොදා ගන්නා විශේෂ නම්)

<u>(සංයුක්ත නිකාය 2 - කුම්ම සූත්‍රය - 346 පිටුව)</u>

**ලුද්දෝති (වැද්දා) -පාපී මරුට නමකි.**

**පාපතාති (යකටු) -ලාබ කීර්ති සත්කාරවලට නමකි.**

**සුත්තකන්ති (හුය)-නන්දිරාගයට නමකි.**



සවි කිරීම ගැනත් වහරක හාමුදුරුවො දවසක් පුද්ගලික සාකච්ඡාවකදි මේ විදිහට පැහැදිලි කිරීමක් කළා. කාන්තාවො 50 - 60 ක් ඇවිත් මෙතැන නිරුවතින් හිටියත් මට නම් ගැටළුවක් නෑ. ඒ සම්බන්ධයෙන් කිසිම හැඟීමක් නෑ. ඒ තත්වය ප්‍රහීණ කරල හුඟක් කල්. නමුත් මේ ස්ථානයේ තවත් භික්ෂූන් වහන්සේලා වැඩ ඉන්නවා. ඒ අයට මාර්ගය වඩන්න ඒක බාධාවක්. ඒ වගේම ලෝක සම්මතයේ පිළිගත්ත ක්‍රමවේදයක් තියෙනවා. කාන්තාවක් භික්ෂුණී වහන්සේ නමකගේ කුටියක් දිහාවට ගියොත් ලෝක සම්මතයේ විවිධ කතා හැදෙන්න පුළුවන්. මිනිස්සු අපවාද කරගෙන පව් පුරවගන්න පුළුවන්. මෙන්න මේ වගේ හේතු ගණනාවක් නිසයි මුලින්ම එහෙම දෙයක් පනව ගෙන සම්මත කරගත්තෙ. ඉතින් කුටි දිහාවට නාවයි කියල ඒ අයටත් මේ ප්‍රශ්න අහන්න, දහම් සාකච්ඡාවලට සම්බන්ධ වෙන්න පොදුවේ දවස් ගණනාවක්ම වෙන් කරල දීල තියෙනවා. ඒ නිසා ඒ අයට අඩුපාඩුවක් වෙන්නෙ නෑ...

ඉතින් අර විදිහට තර්කවාද කරල පරද්දන්න ආපු මහත්තය ගැනත් වහරක හාමුදුරුවො කිව්වෙ, ඒ මහත්තය තමන් සියල්ල අත්හැරල වගේ කතා කළාට, අඩුගානෙ නෝනට තියෙන ඡන්දරාගය තවම අංශුමාත්‍රයකින්වත් අඩුකරගන්න බැරිවෙලා තියෙනව කියල. කොහොම හරි ඒ මහත්තය කෙරෙහි දයානුකම්පාවෙන්මයි වහරක හාමුදුරුවො ඒ අවස්ථාවෙදි වැඩි යමක් කියන්න ගියේ නැතිව නිහඬව ඉඳල තියෙන්නෙ. එහෙම විශේෂ ගුණයක් උන්වහන්සේ ළඟ තිබුණ බව තවත් බොහෝ අවස්ථාවල අපිත් අත්දැකල තියෙනවා. **කවුරුහරි අවංකවම මේ භයානක සසරින් එතෙර වෙලා නිදහස් වෙන්න ඕන කියන අදහසින් බණ අහන්න ආව නම්, උන්වහන්සේ රෑයක් දවාලක්, වෙහෙස මහන්සියක් බලන්නෙ නැතිව ඒ අවශ්‍ය දහම් ගැටළු ටික ලිහල දෙනවා. ඒ වගේම දහම් අවබෝධ කරගන්න අදහසක් නැතිව තමන්ගෙ පණ්ඩිතකම පෙන්වන්න ආවොත්, ඒ අයට මොකුත් නොකිය නිහඬව අහගෙන ඉඳල සුහදව කිසිම ගැටීමක් නැතිව සාකච්ඡාව අවසන් කරන්නත් උන්වහන්සේට හරි අපූරු හැකියාවක් තිබුණා.**

කොහොමහරි ඉතින් මේ සිද්ධියෙන් පස්සෙ මමත් හොඳ පාඩමක් ඉගෙන ගත්තා. මොනතරම් දන්න හඳුනන කෙනෙක් වුණත්, තමන්ගෙ ඥාතියෙක් වුණත්, මේ දහමට විරුද්ධයි කියල අංශුමාත්‍රයකින් හරි හැඟෙනව නම්, ඒ වගේ අයට මේ ගැන කියන්න යන්න හොඳ නෑ. මොකද තව තවත් අපවාද කරගෙන යන්න තියෙන තැනත් වහගන්න පුළුවන්. ඒ නිසා ඒ වගේ කෙනෙක් වුණත්, පසුකාලීනව යමක් තේරුම් අරගෙන ඇහුවොත් මිසක්, මේ ගැන මොකුත් කියන්න යන්නෙ නෑ කියන කාරණයත් වටහාගෙන, ඊට පස්සෙ මම ඒ වගේ කියන්න ගියෙත් නෑ. මොකද වහරක හාමුදුරුවොත් නිතර කියන දෙයක් තමයි, මේ බණ දහම කාගෙවත් පස්සෙන් පන්නගෙන ගිහින් දෙන එකක් නෙවෙයි, එහෙම කරන්න යන්නත් එපා කියල.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**● අමාර්ග කුසල-පුහුදනට නමකි.**
**මාර්ග කුසල- තථාගතයන් වහන්සේට නමකි.**
**දෙමං සන්ධි- විචිකිච්ඡාවට නමකි.**
**වම් මග- මිථ්‍යා අට මගට නමකි.**
**දකුණු මග- සම්මා අට මගට නමකි.**
**සණ වන ලැහැබ- අවිද්‍යාවට නමකි.**
**මහත් ගැඹුර- අවිද්‍යාවට නමකි.**
**මඩ වතුර -කාමයට නමකි.**
**හෙබ (ප්‍රපාතය)- ක්‍රෝධ උපායාසවලට නමකි.**
**සිත්කළු සම බිම -නිවනට නමකි.**

<u>සංයුක්ත නිකාය 3 - දුතිය ගද්දුල බද්ධ සූත්‍රය - 259 පිටුව</u>

තිරිසන්ගත ප්‍රාණීන්ගේ විසිතුරු බව සිතින්ම වූ අයුරු විස්තර කර ඇත.

<u>සංයුක්ත නිකාය 3- ඛජ්ජනිය සූත්‍රය - 149 පිටුව</u>

පංචස්කන්ධයේ අර්ථය.

**රුප්පන ලක්ෂණයෙන් රූප කියයි. (බිඳෙන නිසා රූප යනුවෙන් සිංහලට පරිවර්තනය කර ඇත)**

**වේදියතීති (වළඳ කෙරේ හෙවත් විඳින) යන අරුතින් වේදනා කියයි.**

**සංජානාතීති (හඳුනා ගනී) අරුතින් සංඥා කියයි.**

**පංචස්කන්ධය සංඛත කොට අභිසංස්කරණය කෙරෙතියි යන අරුතින් සංඛාර කියයි.**

**විජානන (දැන ගැනීම) අරුතින් විඤ්ඤාණ කියයි.**

<u>සංයුක්ත නිකාය 3 - මහාලී සූත්‍රය - 119 පිටුව</u>

සත්වයාට කෙළෙස්වලින් කිලිටි වීමට හේතු-ප්‍රත්‍ය ඇත. එසේම කෙළෙසුන්ගෙන් විශේෂයෙන් පිරිසිදු වීමට හෙවත් විසුද්ධියටද හේතු-ප්‍රත්‍ය ඇති බව පෙන්වයි.

<u>සංයුක්ත නිකාය 4 -ආදිත්ත පරියාය සූත්‍රය - 333 පිටුව</u>

අරමුණක නිමිත්තාස්වාදයෙන් බැඳුනොත් කර්ම විඤ්ඤාණ පහළ වන හැටිත්, ඒ මොහොතක මළොත් දුගතියට යන හැටිත් පෙන්වා ඇත.

<u>දීඝ නිකාය (1) සීහනාද සූත්‍රය - 379 පිටුව - පංච නීවරණ දුරු කළ සුවයට උපමා.</u>

1. **කාමච්ඡන්ද දුරු වීම - ණයක් ගෙන කර්මාන්ත කර අභිවෘද්ධිය ලබා ණය ගෙවා සැනසීම මෙන්**
2. **ව්‍යාපාද දුරු වීම - ගිලන් වූවෙක් පසුව සුවය ලැබීම මෙන්**
3. **ථීන මිද්ධ දුරු වීම - දඟ ගෙයි බඳනා ලද්දෙක් පසුව ඉන් නිදහස් වීම මෙන්**
4. **උද්ධච්ච කුක්කුච්ච දුරු වීම - දාසයෙක්ව සිට ඉන් මිදී නිදහස් වූවා මෙන්**
5. **විචිකිච්ඡා දුරු වීම - ධන භෝග ඇති කෙනෙක් කාන්තාරයක ගමන් කොට එතෙරවී ලබන සැනසීම මෙන්**

මෙසේ ණයක් මෙන්, ලෙඩක් මෙන්, දඟ ගෙයක් මෙන්, දාස බවක් මෙන්, කතරක ගමනක් මෙන් තිබූ නීවරණ බාධක දුරුවී ලබන සැනසීම දකී. මේ ප්‍රහීණතාවය දකින විට සතුට උපදී. සතුටු වූවහුට ප්‍රීතිය උපදී. ප්‍රීති වූවහුගේ කය සන්සිඳේ. සංසුන් කය ඇත්තහු සුව විඳී. සුව ඇත්තාහුගේ සිත සමාධිගත වේ. සතර දැහැන් වැඩේ. මේ චිත්ත සම්පත්තියයි.

<u>දීඝ නිකාය 3 - චක්කවත්ති සීහනාද සූත්‍රය - 133 - 135 පිටු</u>

සතර සතිපට්ඨානය නම් බුදු පියාණන් වහන්සේගෙන් උරුම වූ භික්ෂුවගේ හැසිරෙන බිමයි. එවිට සතර සෘද්ධිපාද වැඩීමෙන් ආයුසද, සිල්වත්ව සික පදයෙහි හික්මීමෙන් වර්ණයද, දැහැන් ලැබීමෙන් සුඛයද, මෛත්‍රියෙන් භෝගයද, අරිහත් ඵලයෙන් බලයද වැඩේ. කුසල ධර්ම සමාදානය හේතුවෙන් මෙසේ පිනද වැඩේ.

<u>දීඝ නිකාය 3 - පාසාදික සූත්‍රය - 219 පිටුව</u>

හීන වූ ග්‍රාම්‍ය වූ පෝතුජ්ජනිත වූ අනාර්ය වූ අනර්ථ සහිත වූ සුඛල්ලිකානු යෝග 4 කි. ප්‍රාණඝාත, අදත්තාදාන, මුසාවාද, පස්කම් ගුණයෙන් සන්තර්පිතව පිනවීම යනු ඒ 4 යි. **නිවනට හේතු වන සුඛල්ලිකානු යෝග 4 කි. ඒ සතර දැහැන්ය.**

<u>අංගුත්තර නිකාය 2 - ලෝක සූත්‍රය - 49 පිටුව</u>

බුදු රජාණන් වහන්සේට “තථාගත” කීමට හේතු පෙන්වා ඇත.

1. සත්වයෝ යම් ආයතනයක් ලුහු බැඳ යාද, ඒ සියල්ල දන්නා අරුතින් තථාගත යයි කියනු ලැබේ.
2. උන්වහන්සේ දේශනා කළ සියල්ල එපරිදිම වේ. අන් පරිදි නොවේ. එයින් තථාගත යයි කියනු ලැබේ.
3. යථාකාරී තථාවාදී - යථාවාදී තථාකාරී හෙයින් තථාගත යයි කියනු ලැබේ.
4. සියලු ලෝ සතුන් මැඩ සිටුනේ (අභිබවා ගොස්) හැම දක්නේ සියලු දැනීම් වැටහීම් ඇති හෙයින් තථාගත යයි කියනු ලැබේ.
5. තුන් ලෝ තතු දැන තුන් ලොවම යෝග (තෘෂ්ණා, දෘෂ්ටි දෙක) ප්‍රහාණයෙන් පහ වූයේ තෘෂ්ණා දෘෂ්ටි රහිත හෙයින් තථාගත යයි කියනු ලැබේ.

<u>අංගුත්තර නිකාය 2 - පතිලීන සූත්‍රය - 81 පිටුව - එකලා වීම මෙසේ පෙන්වා ඇත.</u>

මහණෙනි, මහණ කෙසේ එකලා වූයේද යත්,

අස්මි මානය ප්‍රහීණය මුලු සුන් වේ. තාල වස්තු කෘතය (කරටිය සිඳුනු තල් ගසක් මෙන් නැවත ලියලන්නෙ නෑ). මෙසේ එකලා වේ.

මහණෙනි, ප්‍රත්‍යෙක දෘෂ්ටිය (මෙයම සත්‍යයි කියා ගන්නා දෘෂ්ටිය) හලේද මොනවට හල (මනාකොට දුරු කළ) හැම සෙවීම් (කාමේසනා - කාමය පිළිබඳ සෙවීම්, භවේසනා - භවය පිළිබඳ සෙවීම්) ඇත්තේද, සංසුන් කාය සංස්කාර ඇත්තේද එකලා වූයේ වෙයි.

කාය සංස්කාර සංසුං වීද යත් සුඛ, දුක ප්‍රහාණයෙන් සොම්නස් දොම්නස් අස්තයට යෑමෙන් චතුර්ථ ධ්‍යානයට පත්වේද එසේයි. **(මේ අනුව ආර්ය විනයේ පෙන්වන එකලා වීම ලෝක සම්මතයේ ව්‍යවහාර කරන එකලා වීම නොවන බව පැහැදිලි වේ.)**

<u>අංගුත්තර නිකාය 1 – 119 පිටුව</u>

**නීථාර්ථ හා නෙයාර්ථ - දේශිත ආකාරයෙන්ම ගත යුතු නීථාර්ථයි, අරුත මතු කර ගත යුතු නෙයාර්ථයි. (මේ අනුව පෙළ දහමේ සඳහන් කර ඇති කරුණු සියල්ල ඒ ආකාරයෙන්ම ගත නොහැකි බවත්, අර්ථ මතුකර ගත යුතු කරුණුද ඇති බවත් පැහැදිලි වේ. දහම් අවබෝධය ලබා එකී අර්ථ මතුකර ගැනීමෙන් තොරව, හුදෙක් කටපාඩම් කරගෙන මේ දහම තේරුම් ගත නොහැකි බවත් මින් පැහැදිලි වේ).**

<u>අංගුත්තර නිකාය 4 – 373 පිටුව - නන්ද මාතු සූත්‍රය</u>

තම සැමියා මියගොස් අන්‍යතර යක්ෂ යෝනියක ඉපිද පළමුව තිබූ

අත්බවින් පෙනී සිටි කතාවක් ඇත.

<u>අංගුත්තර නිකාය 5 - අනුරුද්ධ සූත්‍රය - 148 පිටුව</u>

මනෝමය කයෙන් කතා කළ හැකි බවට සාක්ෂි ඇත.

<u>අංගුත්තර නිකාය 5 – පරිස සූත්‍රය - 285 පිටුව</u>

මිනිස්, දෙව්, බඹ... ආදී පිරිස් වෙත ඒ ඒ වේශයෙන් ගොස් සාකච්ඡා කර අතුරුදන් වන අයුරුත්, කවරෙක් පැමිණියේ දැයි පිරිස නොදන්නා බවත් පෙන්වා ඇත.

<u>අංගුත්තර නිකාය 5- භූමිචාල සූත්‍රය - 295 පිටුව</u>

බෝසතාණන් වහන්සේ තුසිත දෙව් ලොවෙන් චුතව සිහි ඇතිව නුවණ ඇතිව මව් කුසට ඔක්කන්ති වන බව.

<u>අංගුත්තර නිකාය 5 – සත්තාවාස සූත්‍රය - 448 පිටුව</u>

නව සත්තාවාසයන් පිළිබඳව කරුණු ඇත. එනම් සත්වයෝ උපදින ලෝක ගැන ආකාර 9 ක්. 31 තලයම කොටස් 9 කට බෙදා මෙහි දක්වා ඇත. මෙකී කරුණම දීඝ නිකාය 3 - දසුත්තර සූත්‍රයේ (525 පිටුව) ඇත. එනම්,

1. නානත්ථ කායා නානත්ථ සඤ්ඤිනෝ- කයවල් (ශරීර) හා සඤ්ඤා විවිධාකාරයි. සියලු මනුස්සයින්ට, ඇතැම් විනිපාතික ප්‍රේතයින්ට සහ දෙවියන්ට මේ තත්වය ඇත.
2. නානත්ථ කායා ඒකත්ථ සඤ්ඤිනෝ – කයවල් විවිධාකාරයි, සඤ්ඤා එක හා සමානයි. මේ තත්වය ප්‍රථම ධ්‍යාන බ්‍රහ්මයින්ට ඇත.
3. ඒකත්ථ කායා නානත්ථ සඤ්ඤිනෝ – සමාන ශරීර සහ වෙනස් ආකාර සඤ්ඤා ඇති. ආභස්සර බ්‍රහ්මයින්ට මේ තත්වය ඇත.
4. ඒකත්ථ කායා ඒකත්ථ සඤ්ඤිනෝ – එක හා සමාන ශරීර සහ සඤ්ඤා ඇත. මේ තත්වය සුබකිණ්හක බ්‍රහ්මයින්ට ඇත.
5. අසඤ්ඤිනෝ - අසඤ්ඤ බඹ තලය. (සංඥා කිසිවක් නැති)
6. ආකාසානඤ්චායතනය
7. විඤ්ඤාණඤ්චායතනය
8. ආකිඤ්චඤ්ඤායතනය
9. නේවසඤ්ඤානාසඤ්ඤායතනය

6,7,8,9 හතරම අරූප බඹ තල හතරකි.

<u>අංගුත්තර නිකාය 6 වෙනි පොතේ චේතෝඛිල සූත්‍රයේ 37 පිටුවේ පෙන්වා ඇති දහම අනුව,</u>

කංඛා-විචිකිච්ඡා යන වචනවලට සැකය යන සිංහල අරුත පෙන්වතත්, කංඛිත යනු අංකයක් නොදීම හෙවත් ගණන් නොගැනීම යන අරුතත්, විචිකිච්ඡා යනු පැහැදීමෙන් කටයුතු නොකිරීම බවත් බව මට වැටහෙන ක්‍රමයයි.

<u>අංගුත්තර නිකාය 6 - දුතිය සුඛ සූත්‍රය - 219 පිටුව</u>

මේ ධර්ම විනයේ පෙන්වන දුක - ධර්ම විනයට අනභිරතිය හෙවත් කැමැත්ත නැති විට දුක වන බව පෙන්වා ඇත.

<u>අංගුත්තර නිකාය 6 – කෝකාලික සූත්‍රය - 307 පිටුව</u>

තුදු පච්චේක බ්‍රහ්ම අනාගාමී කෙනෙකි. මනෝමය කායිකයි. කෝකාලික භික්ෂුවට කළ අවවාදයක් පෙන්වයි. **මනෝමය කායික අත්බවකින් පෘථජ්ජනයෙකු හා කළ කතාවක් ඇත.**

**සියලු සඤ්ඤා නැති කිරීම නිවනයි යන දෘෂ්ඨිය නැති කිරීමට-** <u>අංගුත්තර නිකාය 6 - පඨම සංඥා සූත්‍රය</u> - 599 පිටුව බලන්න.

<u>අංගුත්තර නිකාය 6 – මනසිකාර සූත්‍රය - 605 පිටුව</u>

ලෝකය පිළිබඳව සියලු මනසිකාර අත්හැරිය විටත් එක් මනසිකාරයක් ඇති සමාධියක් ගැන සඳහන් වේ. එනම්, ඒතං සන්තං ඒතං පනීතං යදිදං සබ්බ සංඛාර සමථෝ... එයම ශාන්තයි එයම ප්‍රණීතයි... සියලු සංඛාරයන්ගේ සමථයක් වේද... ආදී වශයෙන් කියන නිවන සිහි කරන මනසිකාරයයි.

<u>බුද්දක නිකාය 1- බාහිය සූත්‍රය - 144 පිටුව</u>

තතෝ ත්වං බාහිය නේවිධ, න හුරං න උභය මන්තරේ ඒසේ වන්තෝ දුක්ඛස්සාති. මෙහි උභය මන්තරය යනු " ඒ දෙක අතර" යන අරුත දෙනු ඇත. නමුත් සිංහල අරුත ලෙස පෙන්වා ඇත්තේ "දෙලොවම" යන අර්ථයි. විමසා තේරුම් ගත යුතුයි.

<u>බුද්දක නිකාය 1 – 294 පිටුව - චතුක්ක නිබ්බාන සූත්‍රය</u>

භවයෙන් භවයට යාමක් ඒමක් නැති කල්හි උප්පත්ති නොවේ. චුති උප්පත්ති නැති කල්හි මෙහිද එහිද ඒ දෙක අතරෙහිද නොවේ.

පස්සද්දියා සති නතින හෝති නතියා අසති ආගති ගති න හෝති ආගති ගතියා අසති චුතුප පාතෝ න හෝති චුතුප පාතේ අසති නේවිධ න හුරං න උභය මන්තරේ ඒසේ වන්තෝ දුක්ඛස්සාති.

මෙහිද උභය මන්තරය යන්නට සිංහල අරුත ලෙස, මෙහි යනු කාම භවයත්, එහි යන්නට අරූප භවයත්, මේ දෙක අතර යන්නට රූප භවයත් පෙන්වා ඇත. විමසා බලා තේරුම් ගත යුතුයි.

<u>බුද්දක නිකාය 1 - ශිල්ප (සිප්ප) සූත්‍රය - 191 පිටුව</u>

හස්ථ, අශ්ව, රථ, ධනු, ආයුධ, මුද්‍රා, ගණනා, සංඛ්‍යා ලේඛන, කාව්‍ය (ලෝකෝත්තර පටිභාන කාව්‍ය නොවන), ලෝකායත, නක්ෂත්‍ර ශිල්ප... ආදිය ගැන අග්‍ර ශිල්පය කුමක්දැයි මෙසේ කතා කිරීමක් ගැන බුදු රජුන් දෙසුවේ, සැදැහැයෙන් සසුන් වස් සච්වන්ට මේවා නොගැලපෙන බවත්, දැහැමි කතාව හෝ ආර්‍ය තුෂ්ණීම්භූතබාවය කටයුතු බවත්ය.

<u>බුද්දක නිකාය - සූත්‍ර නිපාතය - කලහ විවාද සූත්‍රය - 876 ගථාව - 276 පිටුව</u>

නාමඤ්ච රූපඤ්ච පටිච්ච එස්සෝ

ඉච්ඡා නිධානාති පරිග්ගහානි

ඉච්ඡාය සන්ත්‍යාන මමත්ත මත්ථි

රූපේ විභූතේන ඵුසන්ති එස්සෝ

<u>තේරුම-</u> සම්ප්‍රයුක්ත නාමය හා වස්ත්වාලම්බන රූපය නිසා ස්පර්ශයෝ උපදනාහ. තෘෂ්ණා දෘෂ්ඨි පරිග්‍රහයෝ ඉච්ඡාව නිධාන කොට ඇත්තාහ. ඉච්ඡාව නැතිවත්ම මමත්වය නැත. ස්පර්ශය ඉක්ම යත්ම රූපයෝ නොපවත්නාහ (එනම් රූපයක් ගෝචර නොවේ නම් ස්පර්ශයක් නොලැබේ. එසේම ලැබූ රූපය ඉක්ම ගිය පසු එහි ස්පර්ශය නැවත නොලැබේ.)

<u>චුල්ලවග්ග පාළි 2 – 103 පිටුව -</u>

**ලෝකායත සාස්ත්‍ර (ලෝකයට අයිති සාස්ත්‍ර) ඉගෙන ගැනීමේ ඇති හිස් බවත්, පැනවූ දුකුලා ඇවතත් සඳහන් වේ.**

<u>චුල්ල වග්ග පාළි 2 - සංඝභේදක්ඛන්ධකය - 261 පිටුව</u>

මුගලන් මහ තෙරුන් වහන්සේට උපස්ථාන කළ කකුධ නම් කෝලිය රාජ පුත්‍රයෙක් කලුරිය කර මනෝමය කායික දෙවියෙක්ව විත් උන්වහන්සේ සමග කථා කළ අයුරු සඳහන් වේ.

<u>සරභ සූත්‍රයෙන්</u>

විරුද්ධවාදියෙකුට බුද්ධ වචනය



# සාසනික දෑ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම

බුද්ධ සාසනය සමග කටයුතු කරනවා කියන්නෙ හරියට දැලිපිහියෙන් කිරි කනවා වගේ වැඩක්. මොකද හරි ගියොත් ඒකෙන් ලැබෙන ප්‍රතිඵලත් ලෝකයේ කිසිවකට දෙවැනි කරන්න බෑ වගේ තමයි වැරදුනොත් ඒකෙන් ලැබෙන නරක ප්‍රතිඵලත්. එදා බුද්ධ කාලයේ සිදු වෙච්ච මේ හා සම්බන්ධ සිදුවීම් ත්‍රිපිටක පෙළ දහමේ පවා සඳහන් වෙලා තියෙනවා. උදාහරණයක් විදිහට කකුසඳ බුදු පියාණන් වහන්සේගෙ කාලයේ බුද්ධ ප්‍රමුඛ මහා සංඝයාට පූජා කරන්න නියමිතව තිබිච්ච දන් වැටක් හොරා කාපු පාපයට, බුද්ධාන්තර 4 ක් තිස්සේ කන්න බොන්න නැති ප්‍රේත අත්බැව්වල දුක් විඳල, අවසානයේ ගෞතම බුද්ධ සාසනයේ බොහොම අමාරුවෙන් දුගතියෙන් නිදහස් වෙච්ච ප්‍රේත පිරිසක් ගැන කතාවක් දහමේ සඳහන් වෙනවා. ඒත් මේ වගේ කතා වර්තමානයට සම්බන්ධ කරල නොපෙන්වීම නිසා බොහෝ දෙනෙක් ඒවා සුළුකොට තකන්න පුරුදු වෙලා ඉන්නවා.

මේ සම්බන්ධයෙන් මෑත කාලයේ වහරක අභයරතනාලංකාර මහ

කී විට කරුණු තුනකින් එකක් හෝ සිදු කරන බව. එනම්,

1. දේශනාවට දොස් නැගීම
2. නිහඬව සිටීම
3. වෙනත් කතාවකින් එය වැසීම

ආනාපාන සති භාවනාවේ සතර සතිපට්ඨානයම ගැබ් වී ඇති බව **සංයුක්ත නිකායේ ආනාපාන සංයුක්තයේ ආනන්ද වර්ගයේ ආනන්ද සූත්‍රයේ 119 පිටුවේ විස්තර කර ඇත.**

<u>පටිසම්භිදා මග්ගප්‍රකරණ 2 – 23 පිටුව - යුගනද්ධ වර්ගය - සත්‍ය කතා</u>

දුකේ ලක්ෂණ 4 ක් දක්වා ඇත.

1. දුක්ඛයාගේ පීඩල අර්ථය (පෙළෙන ස්වභාවය)
2. දුක්ඛයාගේ සංඛත අර්ථය (හේතු ප්‍රත්‍යයෙන් හටගන්නා ස්වභාවය)
3. දුක්ඛයාගේ සංතාපාර්ථය (තැවෙන ස්වභාවය)
4. දුක්ඛයාගේ විපරිණාම අර්ථය (විපරිණාමයට පත්වෙන ස්වභාවය)

මෙසේම සමුදයේත්, නිරෝධයේත්, නිරෝධ මාර්ගයේත් ලක්ෂණ 4 බැගින් විග්‍රහ කර ඇත.

<u>පාරාජිකා පාළි - 255 පිටුව</u>

**සෝභිත නම් හිමි නමක් තමන් කල්ප 500 ක් සිහි කරන බව කී විට, කෙසේ නම් සෝභිත හිමි එසේ කියා උතුරු (උත්තරීතර) මිනිස් දම් ප්‍රකාශ කරත්දැයි භික්ෂූහු බුදු හිමියනට කී විට, මහණෙනි එය බොරුවක් නොවේ, එබඳු සමාධියක් සෝභිතට ඇත, ඒ කල්ප 500 ම එකම ජාතියකියි දේශනා කර ඇත.**

<u>පූජාවලියේ අසදෘෂ මහා දාන කතා 423 - 426 පිටු</u>

**ආනන්ද හිමි කොසොල් රජුගේ අන්තඃපුර ස්ත්‍රීන් පන්සීයකට ධර්ම දේශනා කරන විට එම අයට දරුවන් 500 ක් ලැබුන කතාව සඳහන් වේ.**

- බඹරගල සෙල් ලිපියේ, බුදු රජුන් වර්ෂයක් එහි වැඩ වාසය කළ බවත්, පණීත සූත්‍රය යැයි සූත්‍රයක් දේශනා කළ බවත් සඳහන් වන බව කියයි. එම සූත්‍රය ත්‍රිපිටකයේ නැති බව සමහරු පවසයි. නමුත් එම සූත්‍ර 56 ක් දේශනා කර ඇති බව **සංයුක්ත නිකායේ 4 වන පොතේ 660 පිටුවේ සඳහන්ව ඇත.**
- බළංගොඩ සෝභිත හිමිගේ "බුදු දහමෙන් පිළිබිඹුවන න්‍යාය" නම් පොතේ 115 පිටුවේ පටන් 130 පිටුව දක්වා, පටිච්ච සමුප්පාදයේ භව දුක් අලලා කරන සාම්ප්‍රදායික ක්‍රමයේ සාවද්‍ය බව හා වර්තමානයට තෝරන නිරවද්‍ය ක්‍රමය පෙළ දහම් ඇසුරෙන් පෙන්වයි.
- ත්‍රිපිටකයට බණ වර එක්දහස් එකසිය තෙයාසූවක් (1,183), අකුරු සූවාසූ ලක්ෂ දහස් සූ සැටක් (8,484,064) ඇති බව, පණ්ඩිත ශාස්ත්‍රපති පල්ලාවෙල සද්ධාතිස්ස හිමිපාණන් වහන්සේ රසවාහිනී නම් සඟරාවකට සපයන ලද ආගම හා දර්ශනය නමැති ලිපියක සඳහන්ව ඇත.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

තෙරුන් වහන්සේ බොහෝකොටම අත්දැකීම් ලබල, දියුණු කළ චිත්ත සමාධි ශක්තියෙන් පවා ඒ ගැන යොමු කරල බලල, ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් ප්‍රකාශ කරල තියෙනවා. විශේෂයෙන් මේ කාලයේ සම්බුද්ධ සාසනයත් සමග කටයුතු කරන කොට දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ වෙච්ච වැරදි අඩුපාඩු නිසා, ගිහි පැවිදි දෙපක්ෂයම ඒවායේ අනිටු ඵල විපාකවලට මුහුණ දුන් ආකාරයත් උන්වහන්සේ වරින්වර සමාධියෙන් දැකල ප්‍රකාශ කරල තියෙනවා.

මේ ගැන කතා කරන කොට වර්තමානයේ ප්‍රධාන සාධකයක් තමයි සාසනික මුදල් (පුද පඬුරු). මේ සාසනික මුදල් තමන්ගෙ පුද්ගලික කටයුතුවලට යොදා ගැනීම නිසා දරුණු විපාක විඳින්න හේතු සකස් කරගත්තු උදවිය ගැනත් උන්වහන්සේ සමාධියෙන් යොමු කරල බලලම ප්‍රකාශ කරල තියෙනවා. **මීට කාලයකට පෙර ලංකාවේ බෞද්ධ ජනතාවගේ අති පාරිසුද්ධත්වයට පත් වෙච්ච පුදබිමක් භාරව කටයුතු කළ නායක හිමි නමක්, ඒ ස්ථානයට සැදැහැවතුන් විසින් පූජා කළ කාසි පඬුරු වෙනත් ගිහි පවුල් කිහිපයක් නඩත්තු කිරීම වෙනුවෙන් යෙදවීම නිසා, මරණාසන්න මොහොතේ, ගිනි පේනවෝ.. පිච්චෙනවෝ... කියල කෑ ගහගෙන මනෝමය සූක්ෂම කයින් නික්මිලා අපාගත වුන ආකාරයත්** උන්වහන්සේ සමාධියෙන් දැකල ප්‍රකාශ කරල තියෙනවා.

වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය ගොඩ නැගීම ඇතුළු ඒ විහාරස්ථානය මුල් කරගෙන කරන සාසනික කටයුතු උදෙසා පින්වතුන් විසින් පූජා කරන ලද පඬුරු මුදල්, කෙස් ගහටම ගණන් බලල, ඒවා පූජා කළ අරමුණු වෙනුවෙන්ම යොදවන්න උන්වහන්සේ කටයුතු කළේ මේ ගැන හොඳින් දන්නා නිසා. අවුරුදු 6-7 ක පමණ කාලයක් ඇතුලත ඒ විහාරස්ථානය මුල් කරගෙන සාසන අභිවෘද්ධිය වෙනුවෙන් ලැබිච්ච පඬුරු මුදල්, සත පනහටම ගණන් බලල පොත්වල පවා සටහන් කරල ඒ සියල්ල සාසනික කටයුතු උදෙසාම යෙද වූ බවත්, යම්කිසි විදිහකින් ඒවායින් සත පනහක් හරි අඩු වුණොත් ඒ බව සමාධියෙන් පෙන්නුම් කරන බවත් දවසක් උන්වහන්සේ පැවසුවා. මේ විදිහට විවිධ සාසනික කටයුතු උදෙසා පින්වතුන් විසින් පූජා කරන ලද සියලු මුදල් පරිත්‍යාග උන්වහන්සේ විසින්ම පොත් ගණනාවක සත පනහටම ගණන් හදල එකතු කරල සටහන් කරල තිබුනා. ඒ සියලු පඬුරු මුදල්වලින් තමයි විහාරස්ථානය ගොඩ නගල බාරදීල අවසානයේ ඒ සියල්ල අත් හැරල තමන්ගෙ වැඩ කටයුතු ඉවර කරගන්න පිටත් වුනේ. ඒ ගැන උන්වහන්සේ එදා විශේෂ පැහැදිලි කිරීමකුත් කළා.

මිනිස්සු බුද්ධ සාසනය කෙරෙහි කොච්චර පැහැදීමකින්ද දුක් මහන්සි වෙලා හරිහම්බ කරන මුදල්වලින් සත පනහක් හරි සාසනයට පූජා කරන්නෙ! ඒ අසීමිත පැහැදීමෙන් පූජා කරන පඬුරු මුදල් අපි දැනගන්න ඕන ඒ විදිහට සාසනය උදෙසාම යොදවන්න. එහෙම නැතුව ඒ සත පනහක්වත් සාසනයෙන් පිට ගියොත් දරාගන්න බැරි තරම් වේදනාවක් එනවා. ඒ නිසාම තමයි මම ඔය සත පනහටම ගණන් හැදුවෙ...

**හැබැයි උන්වහන්සේ ඒ පුද පඬුරු ඒ විදිහට යෙදෙව්වෙ පටිග්ගහනය නොකර ගහනය කරගෙන බවත්, පටිග්ගහනය සහ ගහනය කියන්නෙ කාරණා දෙකක් බවත් විශේෂයෙන් පැහැදිලි කළා. ඒ කියන්නෙ ඒවාට බැඳිල ග්‍රහණය කරගන්නෙ නැතිව, ඡන්දරාගයෙන් තොරව, සාසනික අවශ්‍යතාවය සළකල විතරයි ඒවා පරිහරණය කළේ.**

මේ කාරණය මේ විදිහට සටහන් කළේ එක්තරා හේතුවක් නිසා. **අද අපේ සම්මත බෞද්ධයො විතරක් නෙවෙයි, සමහර භික්ෂූන් වහන්සේලා පවා මුල් තැන දීල තියෙන්නෙ සාසනික කටයුතුවලට වඩා දුප්පත් අසරණ මිනිස්සුන්ට සළකන්න. දුප්පත් කමේ හේතුඵල දකින්නෙ නැතිව ඒක තමයි ලොකුම පින කියලත් කියනවා. ඔය අතර "දීමෙන් හොඳ දීම දුගියට දන් දීම" කියල ප්‍රසිද්ධියේ කවි සින්දුත් ඇහෙනවා. බලන්න මොන තරම් ධර්ම විරෝධී කතාවක්ද! පුද්ගලික දාන දාහතරෙන් වැඩිම ආනිසංස ගෙන දෙන දානය විදිහට පෙන්වා තියෙන්නෙ ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමකට පූජා කරන දානය.** අද උන්වහන්සේ ජීවමානව වැඩ නොසිටියත්, උන්වහන්සේ උදෙසා කරන බුද්ධ පූජාවත් ඒ ගණයටම තමයි වැටෙන්නෙ. ඊළඟට පසේබුදු, මහරහත්, අනාගාමී, සකදාගාමී, සෝවාන්... ආදී වශයෙන් ගිහින්, 12, 13 වෙනියට තමයි පෘථග්ජන දුගියෙකුට දෙන දානය වැටෙන්නෙ.

එතකොට අර කතාව මොන තරම් මුලා සහගතද! දීමෙන් හොඳ දීම බුදුනට දන් දීම කියල කියන්න ඕන එක තමන්ගෙ මතයට අනුව වෙනස් කරල හදාගෙන තියෙනවා. ඉතින් ප්‍රසිද්ධ ගායකයො ලවා ඕක කියවනකොට, අහගෙන ඉන්න මිනිස්සුත් ඒකම පිළිගන්න පෙලඹෙනවා. අන්තිමට හිඟන්නොත් හිඟමන් යදින්න ඒක පාවිච්චි කරනවා. ඒ අතර සාමාන්‍ය මිනිස්සුත් කියනවා, දැන් ඉන්න හාමුදුරුවරුන්ට දානය දෙනවට වඩා නැති බැරි දුප්පත් මනුස්සයෙකුට කන්න වේලක් දෙන එක හොඳයි කියල. ඒ විදිහෙ කතා කියල නොදැනුවත්කමින් පව් පුරව ගන්නවා.

ඒත් මේ තුළ ගැබ් වෙච්ච සැඟවුණු දහම් කතාව හුඟ දෙනෙක් දන්නෙ නෑ. මේ සාසනයේ අන්තිම කාසාවකණ්ඨකයත් අතුරුදන් වෙන කල්ම මහත් ඵල මහානිසංස ලැබෙන දානමාන කරගන්න පුළුවන් කියල දේශනා කරල තියෙනවා. ඒ කියන්නෙ කාසාවකණ්ඨකයෙකුටත් සංඝයා උදෙසා දන් දීල ඒ ජාතියේ පිනක් කරගන්න පුළුවන්. හැබැයි ඒක මහත්ඵල මහානිසංස වෙන්නෙ කාසාවකණ්ඨකයෙකුට දෙන නිසා නෙවෙයි, බුද්ධ සාසනය මුල් කරගෙන සංඝයා උදෙසා දෙන දානය ඒ කාලය වෙනකොට සංකේතවත් කරන්න ඉන්නෙ, බාර ගන්න ඉන්නෙ කාසාවකණ්ඨකයො. එතකොට බුද්ධ ප්‍රමුඛ මහා සංඝයා උදෙසා දෙන නිසයි මහත්ඵල මහානිසංස වෙන්නෙ. එහෙව් එකේ අද ඉන්න භික්ෂූන් වහන්සේ නමකට දන් දීම පහත් කරල සළකන්න කොහොමටවත් බෑ.

දැන් මේ කාරණය කිව්වෙ තවත් හේතුවක් නිසා. **අද ඉන්න සමහර බෞද්ධයො පවා මහ පින් කියල හිතාගෙන ඉන්නෙ සාසනික පින්කම් නෙවෙයි, දුප්පත් නැති බැරි අයට, හිඟන්නන්ට කන්න බොන්න දීම, ගෙවල් දොරවල් හදල දීම වගේ ලෞකික යහපත් කටයුතු.** සමහරු බුද්ධ පූජාව තියන කොටත් අහනවා, අපරාධෙ ඔච්චර වියදම් කරල බුද්ධ පූජාව තිව්වට බුදු පිළිම ඕවා වළඳනවද, අන්තිමට නිකං විසි කරන එකයි කරන්නෙ, ඔයිට වඩා නරකද අර කන්න වේලක් නැතිව ඉන්න අසරණ මිනිස්සුන්ට දුන්න නම් කියල. සමහර භික්ෂූන් වහන්සේලා පවා ඔය කතාව කියනවා. එහෙම කියනවා විතරක් නෙවෙයි, ඉවත් කරන බුද්ධ පූජාව පවා මිනිස්සුන්ට /සතුන්ට අඬගහල කන්න දෙනවා.(බුද්ධ පූජාවට තියපු අලුවා කෑල්ලක්

## සාසනික දෑ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම

කාපු ළමයෙකුට වෙච්ච කරදරයක් ඇතුළුව මේ පිළිබඳ වැඩිදුර විස්තර හෙළ බොදු පියුම 29,78,79 කලාපවල "අභයරතනාලංකාරය" යටතේ පල කරල තියෙනවා)

මේ සාසනික දේවල් පරිහරණය කිරීම සම්බන්ධයෙන් වහරක හාමුදුරුවො ගිහි වතක ඉන්නකොට වෙච්ච තවත් අත්දැකීම් කිහිපයකුත් තියෙනවා. ඒ වගේ එක සිද්ධියක් උන්වහන්සේව ගිහි කාලයේ පටන් ඇසුරු කළ භික්ෂූන් වහන්සේ නමක් මේ විදිහට හෙළිදරව් කළා.

වහරක අබේරත්න උපාසක මහත්තය පොල්ගහවෙල ප්‍රදේශයේ සාසනික කටයුතු සිද්ධ කළේ විහාරස්ථානයක් මුල්කරගෙන. ඒ විහාරස්ථානයට පහළින් තවත් උපාසක මහත්තයෙක් තාවකාලිකව දීපු ගෙදරක තමයි නැවතිලා හිටියෙ. ඒ කාලෙ අබේරත්න උපාසක මහත්තය ඒ විහාරස්ථානයේ දහම් වැඩසටහන් පවත්වන නිසාම, ඒ සියලු දෙනාගේම පහසුව පිණිස ධර්ම ශාලාවට සවි කරන්න විදුලිපංකා කිහිපයක් අවශ්‍ය වුණා. ඉතින් එක පිංවතෙක් ඒක බාර ගත්තා. නමුත් ඔහු ඒක ගෙනත් පූජා කරන්න පෙර වෙනත් පින්වතෙක් ඒ අවශ්‍ය විදුලි පංකා ගෙනත් සම්බන්ධ කරල තිබුණා. ඊට පස්සෙ අර කලින් බාරගත්ත මහත්තයත් විදුලි පංකා ගෙනාවා. ඒවත් සාසනය වෙනුවෙන් චේතනා පිහිටුවල ගෙනාපු නිසා, අර විදිහටම පූජා කරල අබේරත්න මහත්තය පින් අනුමෝදනාවත් කළාට පස්සෙ පන්සලේම වෙනත් තැනක තියල තිබුණා.

ඊට පස්සෙ ඒ වැඩසටහන් බාරව කටයුතු කරන පින්වත් පිරිස අබේරත්න මහත්තයගෙන් අහන්නෙ නැතිව, අමතරව තිබිච්ච නිසා ඒක ගෙනිහින්, මහත්තය තාවකාලිකව නවාතැන් ගෙන හිටපු අර පහල ගෙදරට සම්බන්ධ කළා. ඊට පස්සෙ අබේරත්න මහත්තයට සමාධි වඩන්න බැරි වුණා කිව්වා. නිතර නිතර සමාධියට බාධා එන්න පටන් ගත්ත කිව්වා. ඒ ගැන සමාධියෙන් යොමු කරල බලනකොට, උඩ විදුලි පංකාවක් කැරකෙනව වගේ දැක්ක කිව්වා. ඒත් එක පාරටම තෝරගන්න බැරි වුන නිසා, එතැන හිටපු පිරිසත් එක්ක මේ ගැන කතා කරල තියෙනවා. මොකක් හරි බාධාවක් පේනවා, මේ විදුලි පංකාවක් කැරකෙනව වගේ පේනවා, මොකක්ද



මේ අවුල කියල එහෙම ඇහුවට පස්සෙ තමයි, නෑ මේ වැඩිපුර තිබිච්ච විදුලි පංකාව ගෙනත් අපි පහලින් සම්බන්ධ කළා කිව්වෙ. ඊට පස්සෙ අබේරත්න මහත්තය නැවතත් සමාධියෙන් යොමු කරල බලනකොට ඒ සිද්ධියම දැක්ක කිව්වා. මොකද සාසනය වෙනුවෙන් පූජා කරපු දෙයක් තමයි අර වගේ පුද්ගලික ගෙදරකට සම්බන්ධ කළේ. අන්න ඒකෙ බාධකය ඉවත් කරන්න ඒක ගලවල නැවතත් පන්සලෙන් ගිහින් තියන්න කිව්වා. ඒක නිවැරදි කළාට පස්සෙ තමයි කිව්වා නැවත සමාධි වඩන්න පුළුවන් වුණේ.

එතකොට සාසනය වෙනුවෙන් පූජා කරල වෙන් කරපු එකක් තමයි ඒ විදිහට පුද්ගලික තැනකට සම්බන්ධ කළේ. ඉතින් අබේරත්න මහත්තය දහම් වැඩසටහන් කරන නිසා ඒ ධර්ම ශාලාව වෙනුවෙන් ඒක පූජා කළත්, මහත්තයට විතරක් පරිහරණය කරන්න පූජා කළා නෙවෙයි, පොදුවේ සාසනය උදෙසා ධර්ම ශාලාව වෙනුවෙන් තමයි පූජාව කළේ. ඒක අර ගෙදරට සම්බන්ධ කළාට, ඒ ගෙදර අබේරත්න මහත්තයට තාවකාලිකව දීල තිබුන මිසක් සාසනය වෙනුවෙන් පූජා කරල තිබුනෙ නෑ. ඒ නිසා ඒක කොහොමත් පුද්ගලිකයි. අබේරත්න උපාසක මහත්තයගෙ පහසුවට ඒ පින්වතුන් ඒක සද්භාවයෙන් කළත්, සාසනය උදෙසා පූජා කරපු දෙයක් තමයි ඒ විදිහට පුද්ගලික තැනකට සම්බන්ධ කළේ. ඒ නිසා ඒක ගැලපෙන්නෙ නෑ. අනික ධර්ම ශාලාවක් වෙනුවෙන් පූජා කරපු නිසා ඒක වෙනම ගන්න අයිතියකුත් නෑ. ධර්ම ශාලාවක් වෙනුවෙන් නම් යම්කිසි පූජාවක් කළේ, ඒක චෛත්‍යයකට, විහාරයකට, බෝධීන් වහන්සේ නමකටවත් ගන්න එපා කියනවා. මොකද චේතනා පිහිටුවලයි පූජා කරල අනුමෝදන් කරල තියෙන්නෙ.

දැන් මේ වගේ දෙයක් අබේරත්න උපාසක මහත්තය මහණ වුණාට පස්සෙ වහරක අරිය චින්තාශ්‍රම විහාරස්ථානය මුල් කරගෙනත් සිද්ධ වුණා. ඒ 2012 අවුරුද්දෙ විතර. ඒ කාලෙ වහරක හාමුදුරුවො දේශනා කරන බණ පටිගත කරල පින්වත් පිරිස් සංයුක්ත තැටි, දහම් පොත්පත් ආදිය සකස් කරල ඒ ස්ථානයට එන පිරිසට බෙදල දෙන්න පටන් ගත්තා. ඒ සමහරක් ඒවා නොමිලයේම ලබා දුන්නා. සමහරක් ඒවා නිෂ්පාදන වියදමටම ලබා දුන්නා. තවත් සමහරක් ඒවා නිෂ්පාදන වියදමටත් වඩා යම්කිසි සුළු වැඩි මුදලකටත් ලබා දුන්නා. ඒවා ඒ ඒ පින්වතුන් විසින් සැදැහැ සිතින් කරපු දේවල්.

හැබැයි ඒ විදිහට ඒවායින් අමතර මුදලක් ලබා ගත්තත්, ඒ පින්වතුන් ඒ මුදල් තමන්ගෙ පුද්ගලික සුඛ විහරණයට යොදාගත්තෙ නෑ. ඒවත් මොනවහරි සාසනික කටයුතුවලටම තමයි යෙදෙව්වෙ. නමුත් දහම් පොත්පත් ප්‍රකාශන අලෙවියෙන් ලැබෙන මුදල් ඒ දහම් කටයුතුවලටම යොදවන්න ඕන කියන කාරණය දැනගෙන හිටියෙ නෑ. කවුරුවත් ඒ ගැන ඇහුවෙත් නෑ. ඒ නිසා ඒ සමහර පිංවතුන් ඒ මුදල්වලින් වහරක පන්සලටම දානමානත් දීල තිබුණා. මෙන්න මේ කාරණයත් වහරක හාමුදුරුවන්ට බාධකයක් විදිහට සමාධි වඩනකොට දැනෙන්න ගත්තා. පස්සෙ හොයල බලනකොට තමයි දැනගත්තෙ, දහම් පොත්පත් අලෙවියෙන් ලැබෙන මුදල්වලින් දන් දීල කියල. ඉතින් ඒ වෙලාවෙ වහරක හාමුදුරුවො ඒකටත් කිව්වෙ, හරියට ගිනි කෑවා වගේනෙ කියල. ඒ කියන්නෙ බණ කියල ඒකෙන් හම්බ කරල ඒ වෙනුවෙන් දානය ගත්තා වගේ වැඩක්.

ඊට පස්සෙ උන්වහන්සේ ඒ ගැන ධර්මානුකූලව කරුණු තේරුම් කරල දීල, ඒ වෙච්ච වැරැද්ද නිවැරැදි කර ගන්න හැටිත් කියල දුන්නා. ඒ කියන්නෙ, දහම් පොත්පත් ආදියෙන් ලැබෙන මුදල් ඒ වගේ දහම් කටයුතුවලටම යොදවන්න ඕන. **පින්වතුන් චේතනා පිහිටුවල ධර්ම දානයට දුන්න මුදල් නම් ඒ හා සමාන කටයුතුවලටම යොදවන්න ඕන. ඒක වෙනත් සාසනික කටයුතුවලට වුණත් යොදා ගැනීම ගැලපෙන්නෙ නෑ. කවුරුහරි පින්වතෙක්, මේ මුදල ඕනෑම සාසනික කටයුත්තකට යොදා ගන්න කියල දුන්නොත් එතකොට ගැටළුවක් නෑ. ඒක දානමානයක්, පහන් පින්කමක්, අලුත්වැඩියා කටයුත්තක් හෝ වෙනත් ඕනෑම සාසනික කටයුත්තකට යොදවන්න පුළුවන්.** ඒ නිසා තමයි මුදල් වුණත් පූජා කරන කොට මොකටද මේ පූජා කරන්නෙ කියල අහන්නෙ. ඒ මුදල පූජා කළේ යම් චේතනාවක් පිහිටුවලද, ඒක ඒ සඳහාම හෝ ඒ හා සමාන සාසනික කටයුත්තකට හෝ යෙදවිය යුතුයි.

ඒ අනුව දහම් පොත්පත් අලෙවියෙන් ලැබිච්ච ඉතිරි මුදල් අර පිංවතුන් ලවාම අඩුපාඩු තිබිච්ච වෙනත් විහාරස්ථානයක ධර්ම ශාලාවක කටයුතු වෙනුවෙන් යොදවල පින් අනුමෝදන් කරල කැප ඇරෙව්වා. තවත් ඉතිරි වෙච්ච දහම් පොත්පත් තිබිල ඒවා ධර්ම දානය පිණිස නොමිලයේ බෙදල දුන්නා. ඉතින් ඒක කවුරුවත් හිතාමතා කළ වරදක් නෙවෙයි. නොදැනුවත්ව වෙච්ච වරදක්. නමුත් නොදැනුවත්ව වුණත් ඒකෙ බාධාවක් අර විදිහට එන බව උන්වහන්සේ පැහැදිලි කරල දුන්නා. ඒ වගේ අද වුණත් එහෙම දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ වෙච්ච වැරදි තියේ නම්, ඒක නිවැරදි කරල අර වගේ කැප ඇරවල කමා කර ගන්න අවස්ථාව තියෙනවා. එහෙම නොකළොත් ඒක ඉදිරියට බාධකයක් වෙනවා. අද වුණත් රටේ තොටේ පූජනීය ස්ථාන මුල්කරගෙන මේ වගේ සිදුවීම් දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ ඕනෑ තරම් සිද්ධ වෙන්න පුළුවන්. ඒ නිසාම භික්ෂූණ් වහන්සේලාට/ ගිහි පින්වතුන්ට විවිධ බාධකත් ඇවිත් තියෙන්න පුළුවන්. නමුත් ගැටළුව තමයි ඒ හේතුවෙන් ඒ බාධක සිද්ධ වුණා කියන කාරණය තේරුම් ගන්න ක්‍රමයක් නැති වීම.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, එතකොට පොත්පත් ආදිය මුද්‍රණය කරන ඒ මුද්‍රණාල ආදියේ හිමිකරුවන්ට දහම් පොත්පත්වලින් ලාබ ලබන්න බැරිද කියල. ඒ අයට ඒවායේ නිෂ්පාදන වියදමත්, ඒ ආයතන පවත්වාගෙන යන්න අවශ්‍ය විදුලි බිල්පත්, වතුර බිල්පත්, සේවක පඩි නඩි... ආදී කටයුතු සඳහාත්, තමන්ගෙ වෙහෙස මහන්සිය සඳහාත් සම්මතයේ ගන්න සාධාරණ මුදලක් අය කර ගන්න පුළුවන්. ඒකට බාධාවක් නෑ. නමුත් ඒ සාධාරණ මුදලට වඩා වැඩියෙන් ඒ දහම් නිෂ්පාදන යොදාගෙන හරිහම්බ කළොත් සහ ඒ මුදල් පුද්ගලික සුඛ විහරණයට යොදා ගත්තොත් ඒකෙන් සසර ගමනෙදි බාධා එනවා. ඒ නිසා වැඩිපුර උපයා ගත්ත මුදල් තියේ නම් ඒවා පුද්ගලිකව පරිහරණය නොකර ඒ හා සමාන සාසනික කටයුතුවලටම යොදවන්න ඕන. ඒ කියන්නෙ ධර්ම දානය පිණිස දහම් පොත්පත් බෙදා දෙන්න, ධර්ම ශාලාවක් ගොඩනගන්න, එහෙම නැත්නම් භික්ෂූන් වහන්සේ නමක් වඩම්මවල ධර්ම දේශනාවක් කරන්න...ඒ වගේ සාසනික කටයුත්තකට යොදවන්න පුළුවන්.

ඒ වගේම **සමහර අවස්ථාවල ඉදිරියේදී සිද්ධ කෙරෙන පිංකමකට කියල පින්වතුන් වේලපහින්ම මුදල් ආධාර ලබා දෙන්න පුළුවන්. එතකොට ඒ පින්කමට තවත් කල් තියෙනවා කියල, එතකල් ඒ සාසනික මුදල් තමන්ගෙ පුද්ගලික කටයුතුවලට යොදා ගත්තොත් ඒකත් ගැලපෙන්නෙ නෑ. බාධක එනවා. ඒ නිසා එහෙම මුදල් පූජා කළොත් ඒවා වෙනම සුදුසු තැනකින් තැන්පත් කරල, අදාල සාසනික කටයුත්තටම යොදා ගන්නවා මිසක්, තමන්ගෙ නැති බැරිකමට තාවකාලිකව වුණත් යොදා ගැනීම දෝසයකට මුල පුරනවා.**

ඒ නිසා ගිහි වේවා පැවිදි වේවා වේවා, සාසනික කටයුතු වෙනුවෙන් කියල කවුරු හරි තමන්ට යමක් පූජා කළොත් / පරිත්‍යාග කළොත් ඒක ඒ වෙනුවෙන්ම යොදවන්න වගබලා ගන්න ඕන. උදාහරණයක් විදිහට සාසනික කටයුතු වශයෙන් ගැනෙන දහම් ප්‍රචාරණය පහසුවෙන් කරගෙන යන්න කියල, අද කාලයට ගැලපෙන විදිහට කෙනෙක් පරිගණකයක්, හඬ පටිගත කිරීමේ යන්ත්‍රයක්, එහෙම නැත්නම් පොතක් පෑනක් වගේ සුළු දෙයක් වුණත් අරගෙන දෙන්න පුළුවන්. එතකොට ඒක දෙන පින්වතා, මේක අහවල් කටයුත්තටයි දෙන්නෙ කියල චේතනා පිහිටුවල නම් දුන්නෙ, තමන් දැනගන්න ඕන ඒක ඒ සඳහාම යොදවන්න. එහෙම නැතිව ඒක තමන්ට පුද්ගලිකව දුන්න කියල, සාසනික කටයුතුවලින් පරිබාහිර වෙනත් ලෞකික කටයුතුවලට පරිහරණය කරන්න ගියොත් දොස් එනවා.

දහම් සඟරාවක්, දහම් පොතක් මුද්‍රණය කරන්න කියල යම් කිසි මුදල් පරිත්‍යාගයක් කළා නම් ඒක ඒ හා සම්බන්ධ කටයුතුවලටම යොදවන්න ඕන. එතැනදි ඒ දහම් පොත්පත් ප්‍රවාහනය වෙනුවෙන් යම්කිසි මුදලක් වියදම් වුනාද ඒකත් ඒ දහම් කටයුත්තටම අදාළයි. ඒ කියන්නෙ ඒ කටයුත්ත සඳහාම වන අනෙකුත් වියපැහැදම් වෙනුවෙන් යොදාගන්න පුළුවන්. හැබැයි මුදල් ඉතිරි වුණා කියල එයින් පරිබාහිර කටයුතුවලට යොදවන්න ගැලපෙන්නෙ නෑ. මොකද සාසනික කටයුතු වෙනුවෙන් කියල තමන්ට පුද්ගලිකව ලබා දුන්නත්, ඒක ඒ විදිහට අදාළ කටයුත්තටම යොදවයි කියන විස්වාසයෙන් සාසනය කෙරෙහි පැහැදිලයි දෙන්නෙ. වාක්‍ය කියල, ගාථා කියල සාසනයට පූජා නොකළට චේතනා පිහිටුවල දෙනකොටම සාසනයට හිමි වෙලා ඉවරයි.

(තමන්ගෙ දේපළ සාසනික කටයුතුවලට වෙන් කරල මිය පරලොව ගිය උපාසක මහත්තයෙක් ගැනත්, එතුමාගෙන් පසු ඒවා තමන්ගෙ පුද්ගලික පරිහරණයට ගත්ත ඔහුගේ ළමයින්ට ඇති වෙච්ච කරදර බාධක ගැනත් කියවෙන කතාවක් පසුගිය 98 කලාපයේ අභයරතනාලංකාරය යටතේ පළ කරල තියෙනවා)

ඒ වගේම තමන්ගෙ පුද්ගලික මුදලක් සමග සාසනික මුදලක් මාරු කරගන්න අවශ්‍ය වුණොත් ඒක කරන හැටිත් වහරක හාමුදුරුවො ඉතා වැදගත් විදිහට ධර්මානුකූලව පෙන්වා දුන්නා. උදාහරණයක් විදිහට **තමන් ළඟ තියෙන රුපියල් දාහක නෝට්ටුවක් සාසනික මුදල්වලින් පොඩි සල්ලිවලට මාරු කරගන්න ඕන නම්, ඉස්සෙල්ලම සාසනික මුදල්වලින් ඒ මාරු සල්ලි ගැනීම ගැලපෙන්නෙ නෑ. මොකද එතකොට හුවමාරු කරන සුළු වෙලාවකට වුණත් සාසනයට ණය වෙනවා. ඒ නිසා ඉස්සෙල්ලම තමන් ළඟ තියෙන රුපියල් දාහෙ නෝට්ටුව සාසනික මුදල් ගොඩට එකතු කරල ඊට පසුවයි ඒ සාසනික මුදල්වලින් ඊට හිලව් වෙන මාරු සල්ලි ගත යුත්තේ. එතකොට ඒ ගනුදෙනුව බොහොම සුද්ධයි. මොහොතකටවත් සාසනයට ණය නෑ.**





## සාසනික දෑ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම

ඉතින් මේ කාරණය වහරක හාමුදුරුවො ඉතාමත් සුද්ධ ඇතිව පෙන්වා දුන්නෙ, බුද්ධ සාසනයත් සමග ගනුදෙනු කරනකොට කොච්චර පිරිසිදු වෙන්න ඕනද කියන කාරණය පෙන්වා දෙමින්. මේ කාරණය අද හැමෝටම වගේ ප්‍රායෝගිකව බොහොම වැදගත්. මොකද අද රටේ තොටේ සාසනික කටයුතුවලට පූජා කරන මුදල් ඕනෑ තරම් හුවමාරු වෙනවා. එතකොට ගිහි පැවිදි දෙපාර්ශවය අතින්ම අර වගේ අතපසුවීම් වෙන්න පුළුවන්. ඒක අපි නොදැනුවත්වම පිරිසිදු බවේ අඩුවකට මුල පුරනවා. ඒ නිසා ඒ කාරණය ගැනත් දැනුවත් වෙලා, මීට පස්සෙ සාසනික මුදලක් සමග තමන්ගෙ පුද්ගලික මුදලක් හුවමාරු කරන කොට ඒ ක්‍රමවේදය අනුගමනය කරන්න වග බලා ගන්න.

ඒ වගේම තමයි **යම්කිසි දාන වස්තුවක් භික්ෂූන් වහන්සේලාට / විහාරස්ථානයකට පූජා කළාම ඒක භික්ෂූන් වහන්සේ නමක් ඉඳුල් නොකර ගිහි පින්වතුන්ට/ දායකයින්ට ලබා දීමත් ගැලපෙන්නෙ නෑ.** සමහර වෙලාවට භික්ෂූන් වහන්සේලාට පුද්ගලිකව වුනත් පින්වතුන් විසින් විවිධ කැවිලි පළතුරු ආදිය ගෙනත් පූජා කරනවා. සමහර භික්ෂූන් වහන්සේලා ඒවා ඉඳුල් කරන්නෙත් නැතිව ඒ අවස්ථාවෙම ඒ ඉන්න ගිහි පින්වතුන්ට බෙදල දෙන අවස්ථා තියෙනවා. නමුත් එහෙම ඉඳුල් කරන්නෙ නැතිව දුන්නම ඒක ඒ පින්වතුන්ට දිරවන්නෙ නැතිව බඩේ අජීර්ණ ආදිය එන්න පුළුවන්. එහෙම වෙච්ච අවස්ථා වහරක හාමුදුරුවො දැකලම ප්‍රකාශ කරල තියෙනවා. ඒ නිසා ඒ වගේ අවස්ථාවක ඒවා ගිහි පින්වතුන්ට දෙන්න පෙර යම්කිසි කුඩා ප්‍රමාණයක් නාම මාත්‍රිකව හෝ භික්ෂූන් වහන්සේ නමක් විසින් ඉඳුල් කරල දෙන්න කියනවා. එතකොට ඒක අනුභව කරන ගිහි පින්වතුන්ට ඒ නිසා දොස් එන්නෙ නෑ. ( මේ සම්බන්ධ අත්දැකීමක් හෙළ බොදු පියුම 78 කලාපයේ "අභයරතනාලංකාරය" යටතේ පළ කරල තියෙනවා )

ඒ වගේම තමයි යමක් සඟුන් උදෙසා පූජා කළාට පසු දායකයින්ට ඒ සඳහා ඇති පුද්ගලික අයිතිය නැති වෙනවා. හැබැයි සංඝයාට පූජා කරපු දෙයක් නැවත අවසර ඇතිව ගෙනිහින් සංඝයාට ඇප උපස්ථාන කරන්න අයිතිය ගිහි පින්වතුන්ට ලැබෙනවා. එහෙම නැතිව ඒකට තමන්ට අයිතිවාසිකම් කියන්න බෑ. සමහර පිංවතුන් දානමය කටයුතුවලදි පිරිකර පූජා කරල සඟසතු කළාට පසු, භික්ෂූන් වහන්සේලාගේ අවසරයකින් තොරව ඒ පිරිකර වෙන වෙනම අරගෙන භික්ෂූන් වහන්සේලාට නැවත පූජා කරන අවස්ථා තියෙනවා. එතකොට තවමත් ඒවා පුද්ගලිකව අයිතියේ තියාගත්තා හා සමානයි. නමුත් සඟ සතු කළාට පසු ඒ වෙලාවෙම ඒ පුද්ගලික අයිතිය නැති වෙනවා. ඉතිං වැඩි ශ්‍රද්ධාවට කියල ඒ පිරිකර පූජා කරන්න ඕන කියල අරගෙන ගිහින් නැවත පූජා කළත් ඒක ගැලපෙන්නෙ නෑ.

ඒ වගේම සමහර පිංවතුන් තමන්ගෙ ගෙවල්වල තියෙන දානමය පින්කම්වලදි, සියලු පිරිකර තැන්පත් කරල සඟ සතු කරල පූජා කළාට පස්සෙ, යම්කිසි විදිහකින් භික්ෂූන් වහන්සේලා නියමිත ගණනට වඩා අඩුවෙන් වැඩ හිටියොත්, උන්වහන්සේලාට විතරක් ඒ පිරිකර පිළිගන්වල ඉතිරි පිරිකර ගෙදර තියා ගන්නවා. සමහර විට ඒවා නැවත වෙළඳසැල්වලටත් මාරු කරල මුදල් ලබා ගන්න අවස්ථා පවා තියෙනවා. නොදැනුවත්කමින් හරි සිද්ධ වෙන මේ වගේ දේවල් ගැලපෙන්නෙ නෑ. මොකද සඟ සතු කළාට පස්සෙ ඒවා තමන්ගෙ ගෙදර තියාගන්න හෝ නැවත මුදල් බවට පත් කරන්න හෝ තමන්ට අයිතියක් නෑ. ඒ නිසා සඟ සතු කරල අවසන් වුනාට පස්සෙ ඒ භික්ෂූන් වහන්සේලාට පිරිනමල තවත් පිරිකර ඉතිරි වුණොත්, ඒවත් ඒ භික්ෂූන් වහන්සේලාට හෝ උන්වහන්සේලාගේ අවසරය පිට වෙනත් විහාරස්ථානයක භික්ෂූන් වහන්සේලාට හෝ සාසනික කටයුත්තකට හෝ ලබාදිය යුතුයි. නමුත් සඟ සතු කරල පූජා කරන්න පෙර නම්, ඒ වගේ වැඩිපුර තියෙන පිරිකර තමන්ට අවශ්‍ය නම් තියාගත්තට හෝ ඒ විදිහට හුවමාරු කරගත්තට හෝ ගැටළුවක් නෑ. සඟ සතු කළාට පසු ඒ සඳහා තමන්ට අයිතියක් නෑ.

හැබැයි එතැනදි වුනත් වෙළඳසැලෙන් පිරිකර මිලදී ගන්නකොට, මම මේවා සියල්ලම පූජා කරනවා කියන සිතිවිල්ලෙන් නම් ගත්තෙ, පසුව ඒවා නැවත බාර දීල මුදල් ගැනීම නිසා සුද්ධතාවයේ යම්කිසි අඩුවක් වෙන්න පුළුවන්. ඒ කියන්නෙ පාපයක් නෙවෙයි. සමහරවිට හේතුඵල අනුව තමන්ටත් මොනවහරි ප්‍රත්‍ය පහසුකම් ලැබෙනකොට ඒවායේ අඩුවක් වෙන්න හෝ පරිහරණය කරන්න නොලැබී යන්න හෝ පුළුවන්. හැබැයි ඒ විදිහට මිලදී ගන්නකොටම, මේ පිරිකර ඉතිරි වුනොත් නැවත බාර දෙනවා කියන පොරොන්දුව/සිතිවිල්ල පිට ඒවා මිලදී ගත්තනම් ඒ ගැටළුව එන්නෙ නෑ. ඒ වගේම තමන් විසින්ම මුදල් ගෙවන්නෙ නැතිව වෙනත් පිංවතුන්ගේ ආධාර මුදල්වලින් මිලදී ගත්ත පිරිකර නම්, ඒ විදිහට ඉතිරිවුනා කියල නැවත තමන් විසින් මුදල් බවට පත්කර ගැනීම ගැලපෙන්නෙත් නෑ. මොකද ඒ පිංවතුන් පූජා චේතනාවෙන් ඒ මුදල් ලබාදීල තියෙන නිසා. යම්කිසි විදිහකින් එහෙම නැවත බාරදීල මුදල් ලබාගත්තොත්, ඒ මුදල් ඒ හා සමාන සාසනික කටයුත්තකටම යෙදව්වනම් එතකොට ගැටළුවක් නෑ. ඒත් ඒ වටිනාකමට ගැලපෙන වටිනාකමක් විය යුතුයි. ඊට අඩුවෙන්න බෑ. එහෙම අඩුවුනොත්, ඒ අඩු කොටස තමන් විසින් සාසනික දෙයක් පුද්ගලිකව ගත්තා වෙනවා.

හැබැයි සඟ සතු දෙයක් තවත් ඒ හා සමාන සඟ සතු දේකට/ සඟ සතු කටයුත්තකට පරිහරණය කරන්න පුළුවන් ක්‍රමයක් විනය නීතිවල අනුදැන වදාරල තියෙනවා.

උදාහරණයක් විදිහට අටපිරිකරක් පූජා කරල සඟසතු කළා කියල හිතමු. කෙනෙකුට අවශ්‍ය නම් ඒ අටපිරිකර සඳහා යම් කිසි මුදල් ආධාරයක් කරල හෝ නැතිව හෝ ඒ භික්ෂූන් වහන්සේගේ අවසරය ඇතිව සඟ සතු කරන්නා වූ තවත් සාසනික කටයුත්තක් වෙනුවෙන් ඒක



අරගෙන ගිහින් පූජා කරන්න පුළුවන්. ඒ හැර වෙන කිසිම ලෞකික කටයුත්තකට, සක්විති රජයකටවත් ඒක මාරු කරන්න බෑ. සඟසතු කළ යමක් ඇත්නම් ඒ භාණ්ඩයේ තියෙන වටිනාකමට තවත් කිසිම ලෞකික දෙයක් සීමා කරන්න බෑ. හැබැයි සංඝයා උදෙසා හෝ සාසනය උදෙසා හෝ පූජා කරන යමක් ඇත්නම් ඒක විශේෂයි. අන්න ඒ වගේ සාසනික දේකට ඕන නම් මාරු කර ගන්න පුළුවන්. නමුත් ඒක අරගෙන ගිහින් පුද්ගලිකව ප්‍රයෝජනයට ගැනීම ගැළපෙන්නෙ නෑ.

ඒ නිසා යම්කිසි පින්වතෙකුට අවශ්‍ය නම් භික්ෂූන් වහන්සේලාගේ අවසරය ඇතිව, පූජා කරපු යම්කිසි පිරිකරක් වෙනුවෙන් යම්කිසි මුදලක් පූජා කරල, ඒ පිරිකර වෙනත් සඟ සතු කටයුත්තකට යොදා ගන්න කියල නිදහස් කරල දුන්නොත් නැවත ගෙනිහින් පූජා කර ගන්න පුළුවන්. ඒ පිරිකර භාරව ඉන්න භික්ෂූන් වහන්සේලා ඒ සඳහා මුදලක් අවශ්‍ය නෑ, වෙනත් සඟ සතු කටයුත්තකට යොදා ගන්න කියල නිදහස් කරල දුන්නොත් ඒත් ගෙනියන්න පුළුවන්. හැබැයි සාසනික කටයුතු උදෙසා විතරයි. නමුත් ඒ පිරිකර සඳහා යම් කිසි මුදලකුත් පූජා කරල ගෙනිච්චොත් පින්කම් දෙකක් කරගන්න පුළුවන්. එකක් සාසනික ආධාරයක් කරල කර ගන්න පින. අනික ඒ හේතුවෙන් තමන් ලබා ගත්ත හිමිකමට අනුව ලැබිච්ච පූජා භාණ්ඩය /පිරිකර නැවත සාසනික කටයුත්තකට පූජා කරල ලබන පින. එහෙම නැතිව ඒ පිරිකර ගෙනිහින් කඩේකට විකුණල මුදල් ගන්න අයිතියක් නෑ. ඒක ගැලපෙන්නෙ නෑ. යම්කිසි වෙනත් සාසනික වස්තුවකට/ කටයුත්තකට පරිවර්තනය කරගන්න විතරක් අයිතිය තියෙනවා.

උදාහරණයක් විදිහට යමෙක් සාසනය උදෙසා අටපිරිකරක් පූජා කළා නම්, ඒක ගෙනිහින් වෙනත් පූජනීය ස්ථානයක මොනවා හරි සාසනික පූජා කටයුත්තකට යොදාගන්න පුළුවන්. එහෙම නැත්නම් වෙනත් සාසනික කටයුත්තකට හුවමාරු කරගන්න පුළුවන්. මුදලක් වුණත් එහෙමයි. ඒ හැර සසුනට පූජා කරපු යම්කිසි වස්තුවක් ඒ මොහොතෙම සම්පූර්ණයෙන්ම පුද්ගලික අයිතියෙන් නිදහස් වෙනවා. ඒ නිසා පුද්ගලික අයිතිය තියෙන කිසිම දේකට ඒක හුවමාරු කරන්න බෑ. ඒ නිසා සඟ සතු කරපු පිරිකරක් නැවත මුදල් ගෙවා හෝ නොගෙවා හෝ අරගෙන ගිහින් විකුණන්න හෝ වෙනත් සාසනික නොවන ලෞකික කටයුතුවලට යොදා ගන්න හෝ අයිතියක් නෑ.

මේ සම්බන්ධයෙන් වහරක හාමුදුරුවො මුහුණ දුන්න පෞද්ගලික අත්දැකීමක් එදා උන්වහන්සේ මේ විදිහට හෙළිදරව් කළා. ඒ දවස්වල මේ ස්ථානයේ පවත්වන සෙනසුරාදා විශේෂ ආශිර්වාද බුද්ධ පූජාවකට සාමාන්‍යයෙන් පින්වතුන් අටපිරිකර 100 ක් විතර ගෙනත් පූජා කරනවා. සමහර පසළොස්වක පෝය දවස්වල ඊටත් වඩා වැඩියි. එහෙම පූජා කළාට පස්සෙ ඒවා සඟ සතු කරල අනුමෝදන් කරනවා. ඉතින් දවසක් මුස්ලිම් මුදලාලි කෙනෙක් මේ ගැන ආරංචි වෙලා මට කතා කරල ඇහුවා, හාමුදුරුවනේ මේ පන්සලට ගොඩක් අටපිරිකර ලැබෙනවා නේද කියල. මම ඇහුවා, ඔව් මුදලාලි ඇයි එහෙම අහන්නෙ කියල. නෑ ඉතින් වෙන මොකටද අපේ පිරිකර භාණ්ඩ කඩයට අරගෙන විකුණන්නනේ කියල කිව්වා. මම කිව්වා, තරහ වෙන්න එපා මුදලාලි, මේ අටපිරිකර පින්වතුන් විසින් පූජා කරල තියෙන්නෙ භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකා කියන සිව්වනක් පිරිසගේ ප්‍රයෝජනය සඳහා, ඒවා දැන් සඟ සතුයි, ඒ නිසා විකුණන්න අයිතියක් නෑ, මුදලාලිට ඕන නම් අන්න ඕනතරම් අටපිරිකර තියෙනවා, හැබැයි විකුණන්න නෙවෙයි, ඕනෑම විහාරස්ථානයකට ගෙනිහින් පූජා කර ගන්න කියල. එතකොට මුදලාලි කියනවා, කාලෙකට පස්සෙ භික්ෂූන් වහන්සේ නමක් හම්බ වුණා, මම මුස්ලිම් වුනත් ඔබ වහන්සේට ගරු කරනවා කියල...

ඉතින් මේ විදිහට ඒ දවස්වල වහරක හාමුදුරුවො ඒ විහාරස්ථානයට ලැබිච්ච අටපිරිකර තවත් අවශ්‍යතාවය තියෙන විහාරස්ථානවලටත් බෙදල දුන්නා. එක වතාවක් කෑගල්ල දිස්ත්‍රික්කයේ ආරණ්‍යයක අපවත් වෙච්ච ගෞරවනීය භික්ෂූන් වහන්සේ නමකගේ පිංකමකට අටපිරිකර හැටක් ලබාදීල, තවත් මොනව හරි අවශ්‍ය වුනොත් කියන්න කියලත් ඒ ආරණ්‍යයේ භික්ෂූන් වහන්සේ නමකට දැනුම් දීල තිබුණා. අන්න ඒ වගේ පූජා කරපු අටපිරිකර වෙනත් සාසනික කටයුතු උදෙසා විතරයි බැහැර කරන්න අවසර දුන්නෙ.

ඒ වගේම ඇප උපස්ථාන කිරීමේ අයිතිය ශ්‍රාවකයන්ට තියෙන නිසා භික්ෂූන් වහන්සේලාගේ අවසරය ඇතිව ඒ සඟසතු කළ දානමාන හෝ පිරිකර හෝ අරගෙන භික්ෂූන් වහන්සේලාට බෙදල දෙන්න පුළුවන්. එතකොට ඒක භික්ෂු උපස්ථානයක් වෙනවා. මොකද සංඝයා උදෙසා පූජා කරපු දේ භික්ෂු උපස්ථානය සඳහා යොදා ගන්න පුළුවන්. එහෙම නැතිව ගිහි පිංවතුන්ට ඕන හැටියට පරිහරණය කරන්න අයිතියක් නෑ. ඒ නිසා ඒ වැඩ ඉන්න භික්ෂූන් වහන්සේ නමකගේ අනුදැනුම/ අවසරය ඇතිවයි ඒක කරන්න ඕන. අවසර දුන්නොත් හැර හිතුමතේ කරන්න බෑ. මොකද සඟසතු කළාට පසු ඒක භික්ෂූන් වහන්සේලාට අයිතියි. භික්ෂූන් වහන්සේලාගේ අවසරය පිට/ඉල්ලීම පිට ඇවිත් ඒවා බෙදන්න කියන්න පුළුවන්. එතකොට චිත්ත ප්‍රසාදයෙන් ඒවා බෙදා දීමෙන් භික්ෂු උපස්ථානය කියන පින සිද්ධ කරගන්න පුළුවන්. නමුත් ඊට පෙර ඒවා පූජා කරල සඟසතු කරනවත් එක්කම සියලු පින ලැබිල ඉවරයි, පූජාව සම්පූර්ණයි.

දැන් ඒ වගේ තවත් වැදගත් කාරණයක් තියෙනවා. සාමාන්‍යයෙන් විහාරස්ථානවලට පින්වතුන් විසින් විවිධ පිංකම් සඳහා මුදල් පූජා කිරීම් කරනවා. සමහර අවස්ථාවල ඒ පින්කම් අවසානයේ අයවැය ලේඛනයක් එහෙමත් දැන්වීමක් විදිහට ප්‍රදර්ශනය කරන අවස්ථා තියෙනවා. උදාහරණයක් විදිහට කඨින පිංකමකට යම් කිසි මුදල් ආධාර ලැබුන නම්, ඒවා භික්ෂූන් වහන්සේලාගේ ගමන් ගාස්තු, පිරිකර... ආදී වශයෙන් විවිධ දේවල් සඳහා වියදම් කරපු ආකාරයත් සටහන් කරන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවකදි සමහර විට ඇත්තටම වියදම් වෙච්ච මුදලට වඩා රුපියලක් දෙකක් හරි වැඩියෙන් වියදම් වුණා කියල සටහන් කරන්න පුළුවන්.

උදාහරණයක් විදිහට භික්ෂූන් වහන්සේ නමකගේ ගමන් ගාස්තු වෙනුවෙන් රුපියල් 98/- ක් ලබා දීල, ලේසියට පහසුවට රුපියල් 100/-ක් වියදම් වුණා කියල සටහන් කරන්න පුළුවන්. අන්න එතකොට ඒකත් වංචාවකට අහුවෙනවා කියනවා. මොකද ඒ මුදල් පූජා කළ පින්වතුන් ඒක දැකල ඇත්තටම රුපියල් 100/-ක් දුන්න කියල රැවටෙනවා. ඒ නිසා සාසනික පින්කමකදි අයවැය ලේඛනයක් ඉදිරිපත් කරනව නම්, ඒ ගැනත් සැලකිලිමත් වෙන්න කියල වහරක හාමුදුරුවො ධර්මානුකූලව උපදෙස් දීල තියෙනවා.

ඒ වගේම අද විහාරස්ථානවල විදුලි බිල සඳහාත් බොහෝ කොටම වෙනම මුදල් ආධාර ලැබෙනවා.

## සාසනික දෑ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම

ඒ වගේ අවස්ථාවක අද බොහෝ කොටම තියෙන සිරිතක් තමයි, විදුලි බිල වැඩි වෙයි කියල අරපිරිමැස්මට විහාරස්ථානය ආලෝකමත් කරල තියෙන විදුලි බුබුළු නිවන්න කියනවා. ඒ වගේම සමහර අවස්ථාවල භික්ෂූන් වහන්සේලාට අඩුවෙන් විදුලිය පරිභෝජනය කරන්න කියල සීමා පනවනවා. සමහර විට අවශ්‍ය ආලෝක මට්ටමට වඩා අඩු ආලෝකයක් තියෙන විදුලි බුබුළු (අඩු වියදම් විදුලි බුබුළු නෙවෙයි) දාන්න පුළුවන්. එහෙම කරල විදුලිය සඳහා ලැබිච්ච ආධාර මුදල් ඉතිරි කරල සමහර විට ඒවා වෙනත් කටයුත්තකට යොදවන්න පුළුවන්. අන්න ඒ වගේ අවස්ථාවක සංඝයාගේ ප්‍රතිලාභය නැති කිරීමේ වරදට අහු වෙනව කියනවා.

ඒ වගේම **විහාරස්ථානයක් ආලෝක වෙච්ච තරමට විශේෂයි කියනවා. මොකද ඒක සාසනයට කරන ආලෝක පූජාවක් විදිහට තමයි ගැනෙන්නෙ. ඒකෙන් ලැබෙන පිනත් වැඩියි. ඒ වගේම දෙවි දේවතාවුන් වන්දනාමාන කරනවා.** විදුලි බිල සඳහා ලැබෙන ආධාර මුදල් විදුලි බිල සඳහා විතරක්ම යොදවනව නම්, විහාරස්ථානයේ සියළු තැන් ආලෝක කරන්නත්, මහා සංඝරත්නයට අවශ්‍ය සියළු පහසුකම් සලසගන්නත් ඒ මුදල ප්‍රමාණවත් වෙනවා. ඊට අමතරව මුදලුත් ඉතිරි වෙනවා. එතකොට විදුලිය වෙනුවෙන්ම ප්‍රමාණවත් මුදල් ආධාර ලැබිල තියෙද්දිත්, ඒක ඉතිරි කරගෙන වෙනත් කටයුත්තකට යෙදෙව්වොත් ඒක ගැලපෙන්නෙ නෑ. විහාරස්ථානයේ යම් කටයුත්තක් සඳහා ලැබෙන ආධාර මුදල් ඒ සඳහාම යොදවන්න ඕන. නමුත් අද රටේ තොටේ හුඟක් විහාරස්ථානවල වැඩ ඉන්න භික්ෂූණ් වහන්සේලා නොදැනුවත්කම නිසාත්, දහම් අවබෝධයේ තියෙන අඩුපාඩු නිසාත්, සාම්ප්‍රදායිකව කරගෙන එන කටයුතු වෙනස් කරන්න තියෙන අකමැත්ත නිසාත් විසාල වශයෙන් සසර ගමනෙදි බාධා ඇති කරගන්න අවස්ථා තියෙනවා.

සාසනික දෑ වැරදියට පරිහරණය කිරීම සම්බන්ධයෙන් තවත් අත්දැකීමක් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේව ගිහි කාලයේ පටන් ඇසුරු කළ තවත් උපාසක මහත්තයෙක් මේ විදිහට හෙළිදරව් කළා. මේ කතාව වහරක හාමුදුරුවන්ගෙන් මීට පෙර පුද්ගලික සාකච්ඡාවකදි කෙටියෙන් අහල තිබුණත්, ඒ සිදුවීම වෙද්දි ළඟ හිටපු උපාසක මහත්තයෙක් ඒ විස්තරය මේ විදිහට නැවත ආවර්ජනය කළා.



මේ සිද්ධිය වුනේ වහරක හාමුදුරුවො ගිහි වතේ ඉඳෙද්දි සාසනික කටයුතු සිද්ධ කළ... ප්‍රදේශයේදී. ඒ කාලෙ සිකුරාදට ඒ ප්‍රදේශයේ උපාසක මහත්තයෙක් විශේෂ පූජාවක් සිද්ධ කළා. අබේරත්න මහත්තය සාසනික කටයුතු සිද්ධ කරපු ස්ථානයේදි තමයි ඒක කළේ. ඒ කියන්නෙ ඒ උපාසක මහත්තය මුල් වෙලා පූජාවට අවශ්‍ය පූජා භාණ්ඩ ආදිය ගෙනත් ලක ලෑස්ති කරල සූදානම් කළාම අබේරත්න මහත්තය තමයි පුණ්‍යානුමෝදනාව කරල ඒක මෙහෙය වන්නෙ. ඉතින් ඒක අෂ්ටපාන ආදිය පූජා කරල, පහන් දාහක එක්දහස් පන්සියයක විතර පහන් වැටක් හදල සිද්ධ කරන පහන් පිංකමක් සහිත ආශීර්වාද සෙත් බුද්ධ පූජාවක්. ඒ දවස්වල මමත් සිකුරාදා හැන්දෑවට ඒ පැත්තෙ යනවා.

දවසක් ඔය වගේ සිකුරාදා දවසක හැන්දෑවෙ මම යනකොට එදා පූජාවට කිසිම ලකලෑස්තියක් තිබුනෙ නෑ. සියලු දෙනාම විලම්භිත වෙලා වගේ හිටියා. පිරිස දෙතුන් දෙනෙක් වගේ තමයි හිටියෙ. අබේරත්න උපාසක මහත්තයත් පැත්තකින් හිටියා. මම ගිහින් ඇහුවා, මහත්තයා අද පූජාව තියන්නෙ නැත්ද කියල. එතකොට අබේරත්න මහත්තය මෙහෙම කතාවක් කිව්වා. බලන්නකෝ අර...පුතා කරන වැඩ නිසා පූජාව තියන්නත් විදිහක් නෑ, ධාතු කරඬුව ළඟ විදුලි ආලෝක පහන බිඳල. මම දොස් කිව්වා, උඹේ ඇස් දෙකත් අන්ධ වෙයි පූජාවට කරපු බාධාව නිසා, මේ විදුලි බුබුල පූජා කරපු එකක් කියල. ඒ නිසා, කරුණා කරල අලුත් විදුලි බුබුලක් ගේන්න කියල සල්ලි දීල පිටත් කරල යැව්වා...

ඉතින් ඒ පුතා ඒ දවස්වල පහේ හයේ පන්තිවල වගේ හිටපු ළමයෙක් නිසා මමත් අබේරත්න මහත්තයට කියල පාරට ගියා මේ ළමයා කඩේට ගිහින් එනවද බලන්න. ටික වෙලාවකින් බස් එකෙන් බැහැල විදුලි බුබුලත් අරගෙන ආවා. මම ඇහුවා පුතා මොකක් කරන්න ගිහින්ද බිඳුණෙ කියල. නෑ මාමා නිකං අත වැදුනා එතකොට වැටිල බිඳුන කිව්වා. කොහොමහරි අන්තිමට අබේරත්න මහත්තය මේ ළමය ලවාම විදුලි බුබුල අර තිබිච්ච තැනටම දාල, ධාතු කරඬුවට වැඳගෙන, කායේන වාචා චිත්තේන... කියන ගාථාවත් ළමය ලවාම කියවල, දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ සාසනයට මොනව හරි වරදක් වුනානම් ඒකට කමාව ලැබෙන්න කියල, එහෙම කමා කරවල තමයි ඒ විදුලි බුබුල නැවත දැම්මෙ.

ඉතින් එතැන හිටපු පිරිස ටිකක් එහාට මෙහාට ගියාම අර උපාසක මහත්තය මට අඬ ගහල කියනවා, ඕක වෙච්ච හැටි මම කියන්නද මම ඕක දැක්ක කියල. මමත් ඉතින් කියන්න කිව්වම ඒ සිද්ධිය කිව්වා. ඒ ස්ථානය භාරව ඉන්න අයිතිකාර මනුස්සයයි මේ ළමයයි දෙන්නා කළුවර වැටීගෙන එනකොට අර උපාසක මහත්තයට කියනවලු, මට පුළුවන් අත දික් කරල අධිෂ්ඨාන බලෙන් මේ ලයිට් එක නිවන්න කියල. දෙන්නම කියනවලු දෙන්නටම එහෙම පුළුවන් කියල. දැන් මේ දෙන්නම කතා වෙලාලු මේක කරන්නෙ.

ඉතින් මේ වැඩිහිටි මනුස්සයා විදුලි බුබුලට අත දික් කරගෙන ඉන්නකොට අර ළමය මොකද කරන්නෙ, හෙමිහිට ගිහින් ජේනුව (switch) ක්‍රියාත්මක කරනවලු. එතකොට විදුලි බුබුල පත්තු වෙනවා. ඊළඟට ළමය ඇවිත් අත දික් කරගෙන ඉන්න කොට මේ වැඩිහිටි මනුස්සයා හෙමිහිට ගිහින් ජේනුව ක්‍රියාත්මක කරනවා. ඉතින් නැවතත් පත්තු වෙනවා. දැන් මේ උපාසක මහත්තයත් මේක නොදන්නවා වගේ හොඳට බලාගෙන ඉඳල කියනවලු, හරි පුදුමයි නේ මහා ප්‍රාතිහාර්යක් මේක නම් අදහගන්නත් බෑ කියල. නමුත් මේ දෙන්න කතා කරගෙන තමයි උපාසක මහත්තයව ගොනාට

ඇන්දුනා කියල හිතාගෙන මේක කරල තියෙන්නෙ. උපාසක මහත්තයත් ඉතින් බොරුවට රැවටුනා වගේ ඇඟෙව්වලු. ඉතින් ඔය විදිහට මේ සෙල්ලම කර කර ඉන්නකොට තමයි කොහොම හරි මේ ළමයගෙ අත වැදිල විදුලි බුබුල බිඳිල තියෙන්නෙ. ආං බලන්නකෝ මේ සාසනයේ කටයුතු කරනකොට තව කෙනෙක් මිනිස්සු රවට්ටන්න බොරු වැඩ කරන්න ගිහින් ඒකෙ විපාකෙ හැටියට නේ අර විදුලි බුබුල බිඳුණෙ කියල මේ උපාසක මහත්තය මාත් එක්ක කිව්වා.

පස්සෙ මම මේ කතාව ගිහින් අබේරත්න උපාසක මහත්තයට කිව්වා. සමහරවිට අබේරත්න මහත්තයත් ඒ සිද්ධිය දැනගෙන ඉන්න ඇති. ඒ නිසානෙ අර විදිහට දොස් කියල තියෙන්නෙ. මම කිව්වම අර උපාසක මහත්තය මෙහෙම කතාවක් කිව්ව කියල, අබේරත්න මහත්තය හිනා වෙවී මෙහෙම කියනවා. බලන්නකෝ මහා ගොන් වැඩක්නෙ මේ මිනිහා කරල තියෙන්නෙ. මේ ළමය නම් තවම පොඩි එකා කියමුකෝ, ඒකාට ඉතින් තවම තේරෙන්නෙ නෑ පොඩිකමට. ඒත් මෙතැන ඉන්න පැහිච්ච එකා, බණ දහම් අහන එකා දැනගන්න එපැයි අනික් අය මුලා කරන්න අසත්පුරුෂ වැඩ කළාම ඒක හොඳ නෑ කියල. එහෙම කියල අබේරත්න මහත්තය දොස් කිව්වා.

කොහොම හරි ඒ කියනකොට මේ මනුස්සයා ඒක හොරෙන් අහගෙන ඉඳල, මේක අපේ තැන කියල මට සද්දයක් එහෙම දාල අමුතු භාසාවකින් කතා කළා. ඒකට ඉතින් මටත් ටිකක් කේන්ති ගියා. එතකොට අබේරත්න මහත්තය මොකද කළේ, ඒක සමථයකට පත් කරන්න ක්ෂණිකවම මම දිහා බලල බුලත් විටක් හපන්නකෝ කියල බුලත් වට්ටිය මගේ අතට දුන්නා මගේ අවධානය වෙනස් කරන්න. ඒත් මට මේ පුද්ගලයා ගැන කිසිම විශ්වාසයක් තිබුණෙ නෑ. මොකද ඔහු අබේරත්න මහත්තය ගැන කිසිම ගරුත්වයකින් නෙවෙයි කටයුතු කළේ. සාමාන්‍ය කෙනෙක් විදිහට හිතල තමයි කටයුතු කළේ. කොහොමහරි මම මේ මනුස්සයත් එක්ක රණ්ඩුවට යයි කියල හිතල අබේරත්න මහත්තය මොකද කළේ, විටක් හපන ගමන්ම මේ සිද්ධිය යටපත් වෙන්න දහම් කතාවක් ඇදල අරගෙන ඒක විස්තර කරගෙන ගියා. ඒ සිද්ධිය ඉතින් එතැනින්ම ඉවර වුණා.

හැබැයි අර ළමය විතරයි කමා කෙරෙව්වෙ. මොකද අර මනුස්සයා නාහෙට අහන්නෙ නැති මිනිහෙක්, හරි පණ්ඩිතයි. ඒ වගේ කමා කරන්න එන ජාතියේ කෙනෙක් නෙවෙයි, ලොකු කමට ඉන්න කෙනෙක්. හැබැයි ඒ ජාතියේ වැඩ කරපු එකේ ඵල විපාකත් ඒ මනුස්සයට පසු කාලයක ආවා.

---

දැන් එතකොට බලන්න මේ ඒ කාලෙ හැටියට රුපියල් තිහ හතළිහක විදුලි බුබුලක් තමයි අර ළමය අතින් අත වැදිල බිඳුනෙ. අද කාලෙ නම් ඉතින් වෙන කෙනෙක් නම් මේ වගේ දෙයක් ගණන් ගන්නෙත් නෑ, ඕක මොකක්ද ළමයින්ගෙ හැටිනෙ කියල වෙන එකක් ගෙනත් දමාවි. නමුත් අබේරත්න උපාසක මහත්තය ඒක සුළුවෙන් තැකුවෙ නෑ, ඊට එහා ගිය යමක් දැක්කා. පුංචි වුනත් සාසනික දෙයක් නිසා ඒකෙ බරපතළකම දැකල තමයි අර විදිහට වෙච්ච වැරැද්ද නිවැරදි කරල ඒ අය කෙරෙහිත් දයානුකම්පාවෙන් කටයුතු කළේ. ඒ විතරක් නෙවෙයි, මේ සිද්ධිය නිසා ඇතිවෙන්න ගිය රණ්ඩුවත් බොහොම උපායශීලීව සියලු දෙනා කෙරෙහිම දයානුකම්පාවෙන් නවත්වන්න කටයුතු කළා. නැත්නම් ඉතින් ඔය දෙන්න රණ්ඩු වෙන්න කියල නිකං ඉන්න තිබුණ නේ. නමුත් එහෙම කළේ නෑ. අනන්ත සංසාරයේ අත්බැව් ගණනාවක මේ වගේ අත්දැකීම් ලබල, ඒවායේ ඵල විපාකත් දැකල, ඒ වෙනකොටත් සසර භයානකත්වය හොඳින් අවබෝධ කරගෙන හිටපු නිසා අබේරත්න උපාසක මහත්තය ඒ විදිහට ධර්මානුකූලව කටයුතු කළා. ඉතින් මේ කතාව පුංචි වුණත් අද ඉන්න අයටත් හොඳ ආදර්ශයක්. **පුංචි දරුවෙක්ගෙ අතින් වුණත් නොදැනුවත්වහරි සාසනික දේපළකට සුළුවෙන් හෝ අලාභයක් වුනොත්, වැඩිහිටියො ඉදිරිපත් වෙලා ඒක නිවැරදි කරල කමා කරවන්න දැනුවත් වෙන්න ඕන. නැත්නම් කවදහරි ඒ දරුවටත් ඒක බාධාවක් වෙනවා.**

ඉතින් මේ හැම කාරණයකින්ම කියන්නෙ, සාසනික දේවල් පරිහරණය කරනකොට අවංක වෙන්න කියන කාරණය. මොකද වෙනත් දේවල් වගේ නෙවෙයි, සාසනික දේවල් වැරදියට පරිහරණය කිරීම හරි බරපතලයි.

ඉස්සර අපේ වැඩිහිටියො මේ සඟසතු දේපල වැරදියට පරිහරණය කරන්න හොඳ නෑ කියල ධර්මානුකූලව දැනගෙන හිටියා. ඒ නිසා තමන්ගෙ දරුවන්ටත් පොඩි කාලෙ ඉඳන්ම ඒවායේ තියෙන බරපතළකම කියල දීල තිබුණා. නමුත් අද වෙන කොට බොහෝ දෙනෙක් ඒවා සුළු කොට තකන්න පුරුදු වෙලා, එහෙම නැත්නම් ඒවා ගැන දන්නෙ නැතිව, වැඩිහිටියො පවා තමන්ගෙ දරු මල්ලො එක්ක සඟසතු පූජා භූමිවල අවසරයකින් තොරව ගෙඩි මල් කොළ ආදිය කඩන්න විනාස කරන්න, අපවිත්‍ර කරන්න පුරුදු වෙලා ඉන්නවා. නොදැනුවත්ව වුනත් ඒ කටයුතුවලින් මහා පාපයක් සිද්ධ කර ගන්නවා.

මේ සඟසතු දේපල ගැන කතා කරනකොට අද හුගක් අය නොදන්න තවත් කාරණයක් තියෙනවා. බුද්ධ සාසනයකට පූජා කරපු දෙයක වටිනාකම මෙපමණයි කියල සීමා කරන්න බෑ. ඒ පූජා කරපු අය ඒ නිසා ලබන පුණ්‍ය බල මහිමයත් අනන්තයි අප්‍රමාණයි. **යම්කිසි බුදුවරයන් වහන්සේ නමකගේ බුද්ධ සාසනයට යම්කිසි භූමියක් පූජා කළා නම් ඒ කල්පය අවසාන වෙනකල්ම ඒක වෙනස් වෙන්නෙ නෑ. ඒක තමයි බුද්ධ දේශනාව. අපි නොදැන හිටියත් ඒක පූජා වෙලා ඉවරයි. පූජා කරපු තැන් පටන් ඒ කල්පය අවසන් වෙනකල්ම ඒක සඟ සතුයි.**

උදාහරණයක් විදිහට භික්ෂූන් වහන්සේලා පොහොය කරන පොහොය ගෙයක්/පොහොය සීමාවක් මේ කල්පයේම පහළ වෙච්ච කකුසඳ කෝණාගමන, කාශ්‍යප කියන මේ කුමන හෝ බුද්ධ සාසනයක තිබිල යට ගිහින් අපි නොදැන තියෙන්න පුළුවන්. යම්කිසි විදිහකින් දිව්‍යස් ලාභියෙක් හෝ ඒ කාරණය දැකල කිව්වොත්, ඒක නැවත වතාවක් සඟසතු කරන්න ඕන නෑ. ඒ ස්ථානයේ දැන් වුණත් පොහොය කරන්න පුළුවන්. බුද්ධාන්තර ගණනක් ගියත් ඒක වෙනස් වෙන්නෙ නෑ. මොකද තවම මේ කල්පය විනාස වෙලා නෑ. **ඒ නිසා තමයි ඉස්සර පූජනීය ස්ථාන බුද්ධ සාසනයට පූජා කරන කොට ඒ ස්ථානවල ඉර හඳ කොටල තියෙන්නෙ. ඉරහඳ පවතින තාක් මේ භූමිය බුදු සසුන සතුයි කියන එකයි ඒකෙන් කියන්නෙ. මොකද මේ කල්පය අවසන් වෙනකල්ම ඉර හඳ පවතිනවා.** ඒ කාරණයත් අදහස් කරල තමයි පූජා කරන්නෙ. ඒ නිසා කකුසඳ බුදුන්ගෙ කාලයේ පූජා කළා නම්, කෝනාගමන, කාශ්‍යප, ගෞතම බුදුවරයන් වහන්සේලාගේ සාසනවල විතරක් නෙවෙයි, මතු බුදු වන මෛත්‍රී බුදුන් වහන්සේ පහල වෙනකොටත් ඒක සඟ සතුයි. ඒක හරි ගැඹුරු කාරණයක්. නමුත් බොහෝ දෙනෙක් දන්නෙ නෑ. **බුද්ධ සාසනයක් අන්තර්ධාන**

## සාසනික දෑ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම

**වෙනකොට ඒ සඟසතු දේත් අන්තර්ධාන වෙනවා කියල හිතුවොත් ඒක වැරදියි. සඟසතු කිරීම කියන්නෙ ඒ තරම් ගැඹුරු දෙයක්.** (මේ ගැන තවත් විශේෂ පැහැදිලි කිරීමක් 58 කලාපයේ "සංඝත්වය පූජනීයයි වන්දනීයයි" ලිපිය යටතේ පළකරල තියෙනවා)

සඟසතු දේපල සම්බන්ධයෙන් කතාකරන කොට දහමේ සඳහන් වන කතා කිහිපයක් තියෙනවා. කරරෝම, සූචිරෝම කියල යක්ෂයො දෙන්නෙක් ගැනත්, ඒ අය ඒ යක්ෂ උපත් ලබන්න හේතුවත් බුද්ධ දේශනාවේ සඳහන් වෙනවා. කරරෝම යක්ෂයා පෙර බුද්ධ සාසනයක් කාලයේ ගොවියෙක්. දවසක් ඔහු බණ අහන්න කියල කුඹුරේ වැඩ කර කර ඉන්න ගමන් මඩ පිටින්ම පූජනීය ස්ථානයකට ඇවිත් ඉඳගත්තා. දහම් ගරුත්වයෙන් බණ ඇහුවට නොසැලකිල්ලෙන් අර පූජනීය ස්ථානයේ මඩ තැවරිලා අපවිත්‍ර වෙලා තියෙද්දිම යන්න ගියා. දැන දැනම පූජනීය ස්ථානයක් අපිරිසිදු කළ නිසා අර බණ අහපු පිනත් යටපත් වෙලා ගිහින් මරණාසන්න මොහොතෙදි ඇඳිල ආවෙ ඒ කරපු පාප කර්මය. ඒකෙන් යක්ෂයෙක් වෙලා ඉපදිලා ශරීරයේ සියලු රෝම ගස් දැලි පිහියක් වගේ වුණා. කර්ම ශක්තියෙන් හටගත්ත ශරීරය නිසා දැන් අතපය එහා මෙහා කළත්, ඉඳ ගත්තත් තමන්ගෙම රෝමවලට ශරීරය කැපෙනවා. කර්ම ශක්තියෙන්ම නැවත යථා තත්වයට පත් වෙනවා. ඒත් අර විදිහට තමන්ගෙම රෝමවලට ශරීරය කැපීමෙන් දුක් විඳිනවා. ඉතින් ඒ නිසා **දහම් ගරුත්වයෙන් බණ අහන කොටත් ඒ පූජනීය ස්ථාන පිරිසිදුව තියාගෙන ඒවාට හානි නොකර බණ අහන්න ඕන.**

ඊළඟට සූචිරෝම කියන යක්ෂයත් පෙර මනුස්සයෙක්. ඔහු පූජනීය ස්ථානයකට එනකොට සඟ සතු තෙල් බෝතලයක් දකිනවා. කාලෙකින් ඔළුවෙ තෙල් ගාලත් නෑ, ඔළුවත් කර වෙලා. ඒ නිසා මොකද කළේ, අර බෝතලයෙන් තෙල් ටිකක් ඔලුවෙ ගා ගෙන යන්න ගියා. එච්චරයි කරපු පාපය. නමුත් පාපයක් බව දන්නෙ නැතිව ගණන් ගත්තෙ නෑ. සුළු දෙයක් කියල තමයි හිතුවෙ. ඒ විදිහට සාසනික දේ වැරදියට පරිහරණය කරපු එකේ පාපය මුල්කරගෙන ශරීරයේ හැම තැනම කෙස්, රෝම ඉඳිකටු වගේ තියෙන යක්ෂයෙක් වෙලා උපන්නා. දැන් ඉතින් ශරීරය අතපත ගැවත් ඒවා ඇනිල සිදුරු වෙනවා. ඉඳිකටු වගේ රෝම තියෙන නිසා සූචිරෝම කියල කිව්වා. ඒ යක්ෂ




අත්බවේ ඉන්න කල්ම ඒ දුක විඳින්න වෙනවා.

මේ වගේ තවත් කතාවක් තියෙනවා. බෞද්ධ පූජනීය ස්ථානයකට පූජා කරපු කොඩියක් ගැලවිලා හුළඟෙ ගහගෙන ගිහින් ගොවියෙක් ගොවිතැන් කරන තැනකට වැටුණා. ඉතින් කොඩි පූජාවක් කළා නම් ඒක සාසනය සතුයි. නමුත් මේ ගොවියා ඒක දන්නෙ නැතිව, මට හොඳ වාසියක් හම්බවුණා කියල ඒකෙන් අමුඩෙ ගහගෙන කුඹුරු වැඩ කළා. ඒකෙන් පාපයක් සිද්ධ වෙන බව දැනගෙන හිටියෙ නෑ. නමුත් මරණාසන්න මොහොතෙදි ඒ කර්ම වේගය බලවත් වෙලා ඇඳිල ඇවිත්, මුළු ශරීරයම දහස් පොළකින් හිර වෙලා දර මිටියක් වගේ වෙලුනා. හිස් මුදුනේ පටන් දෙපතුල දක්වාම ඒ විදිහට වර පටවල් දහසකින් වෙලිල, හරියට හුළඟට අහුවෙච්ච පරඬැල්පත වගේ තමන්ගෙ පාලනයෙන් තොරව යන එනකොටත් අතපය දික් කරන්න බෑ, හිර වෙලා ගල්වෙලා. දැන් ඉතින් තමන්ට ඕන විදිහට අතපය හොලවන්න මොකවත් කරන්න බෑ.

දැන් මේ ඥාති ප්‍රේතයා තමන්ගෙ පෙර ඥාති සම්බන්ධයක් තියෙන භික්ෂූන් වහන්සේ නමක් දැකල උන්වහන්සේ ළඟට ගිහින් පෙනී හිටියා. කර්ම විපාකජ ඍද්ධිය අනුව ඔහුටම තේරෙනවා, අර කරපු කර්මය මුල් වෙලා තමයි මේ විදිහෙ විපාකයක් ආවෙ කියල. ඒක පුණ්‍ය ඍද්ධියක් නෙවෙයි කර්ම විපාකජ ඍද්ධියක්. සමහර ප්‍රේතයින්ටත් ඕක පහළ වෙනවා. ඒකෙන් තමන්ටම තේරෙනවා, තමන් කරපු අහවල් කර්මය නිසයි මේ විදිහෙ දුක් විඳින්නෙ කියල. ඉතින් මේ ඥාති ප්‍රේතයා අර භික්ෂූන් වහන්සේට මේ සිද්ධිය කිව්වා. අනේ ස්වාමීනි, මගේ අතින් මෙහෙම වරදක් වුණා, මාව බේරගන්න. මම එදා වරදක් බව නොදැන මෙහෙම කළ පාපයෙන් අද මගේ ශරීරය දහස් පොළකින් වැල්වලින් එතිල හිර වෙලා ගලවගන්න බෑ. මට පිහිට වෙන්න කියල මෙහෙම ඉල්ලීමක් කරන කොට, උන්වහන්සේ අහනවා, මොකක්ද වෙලා තියෙන්නෙ මම කොහොමද පිහිට වෙන්නෙ කියල. ඔබ වහන්සේට මම පෙර ඥාතියෙක් වෙලා උදව් උපකාර කරල තියෙනවා, ඒ නිසා ඔබ වහන්සේ දෙන පින් ගන්නත් මට හේතු වාසනා තියෙනවා, මේ දුකෙන් මාව නිදහස් කරන්න. ඔබ වහන්සේ පිණ්ඩපාතෙ වැඩල ලැබෙන සළුවලින් කොඩි දාහක් හදල මා වෙනුවෙන් පූජා කරන්න. එතකොට මම මේ බැඳිල ඉන්න දහස් පොළකින් ලිහෙන බව මට පේනවා. මම ඒ පාපයෙන් නිදහස් වෙනවා.

ඉතින් මෙහෙම ඉල්ලීමක් කළාම උන්වහන්සේ පිණ්ඩපාතෙ වඩින කොට ලැබිච්ච සළුවලින් කොඩි මහල පළමු වතාවෙ කොඩි සීයක් සාසනයට පූජා කරල අර ඥාති ප්‍රේතයාට පින් අනුමෝදන් කළා. ඊට පස්සෙ සිය පොළකින් ශරීරය ලිහිල නැවතත් පෙනී ඉඳල කියනවා, ස්වාමීනි මම සිය පොළකින් නිදහස් වුණා, තවත් නවසිය පොළක් තියෙනවා, අනේ මට අනුකම්පා කරල කොහොම හරි මාව නිදහස් කරන්න කියල. ඉතින් උන්වහන්සේ ඔය විදිහට පිණ්ඩපාතෙ ගිහින් ලැබෙන සළුවලින් සැරින් සැරේ කොඩි සියය බැගින් පූජා කරල අනුමෝදන් කළාම ඒ බැමි ලිහිල් වෙලා නිදහස් වෙන්න ගත්තා. ඔය විදිහට දහ වතාවකදි කොඩි සියය බැගින් දාහක් පූජා කළාම සම්පූර්ණයෙන්ම නිදහස් වුණා.

දැන් බලන්න මේ සුළු දේකින් පවා මහා බලවත් විපාකයක් නැගිච්ච හැටි. ඒ නිසා හොඳින් තේරුම්ගන්න ඕන, සාසනික දේවල් වැරදියට පරිහරණය කරනව නම් ඒක හරි භයානකයි. ඒ නිසා යම්කිසි ගුණයක පිහිටල තමයි ඒ සුදුසු දේවල් සුදුසු විදිහට පරිහරණය කරන්න ඕන. චීවර, පිණ්ඩපාත,






බිත්ති කුරුස වැටෙන ආකාරය




කුරුපාවක පෙනුම

# මෙලොව අභිවෘද්ධියට

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක සිටියදී, නිවන් මගට අමතරව නොයෙක් ගැටළුවලට මැදිව දිවි ගෙවන ජනයාගේ ලෞකික අභිවෘද්ධියට ලබා දුන් ධර්මානුකූල විසඳුම්, පැතිකඩවල් ගණනාවක් ඔස්සේ විහිදෙනවා. ලෙඩ රෝග, ග්‍රහ අපල, අමනුස්ස දෝස, වාස්තු දෝස, ගොවිතැන්බත්...ආදී වශයෙන් කියන්නා වූ හැම පැතිකඩක්ම උන්වහන්සේ විසින් ඥානයෙන්, සමාධියෙන් දැන ගෙන ඒවාට සාර්ථක විසඳුම් ලබා දීල තියෙනවා.

සමහර අවස්ථාවල පැරණි පොත්පත්වල සඳහන් ක්‍රමවේදත් අධ්‍යයනය කරල ඒවායේ තියෙන කාරණාත් සමාධියෙන් යොමු කරල බලල ගැළපෙනවනම් තමයි යොදා ගත්තෙ. මොකද ඒ පැරණි ක්‍රමවේද සමහර පොත්පත්වල සඳහන්

සේනාසන, ගිලානප්‍රත්‍ය කියන මේ සිව්පසයම ප්‍රත්‍යවේක්ෂාවෙන් පරිහරණය කරන්න කියන්නෙ ඒකයි. එහෙම නැතිව පරිහරණය කළොත් හරි භයානකයි. බඩගිනි වේදනා, ක්ලාන්ත කැරකිලි, කැක්කුම් එනවනම් බණ අහන්න භාවනා කරන්න හරි බාධකයක්. එතකොට ඒ සඳහා ශක්තිය නෑ, බල පිරිහිලා. ඒ අයට මග වඩන්න අමාරුයි. ඒ නිසා මේ කය පෝෂණය කරගෙන නිවන් මග පූර්ණ කරගන්නවා කියන අදහසිනුයි ඒවා පරිභෝග කරන්න ඕන. ඒ අදහසින් මිසක්, හොඳයි රසයි ප්‍රණීතයි සුවයි... ආදී අදහස් අරගෙන, බාහිර ලෝකයෙන් ආස්වාද විඳගන්න නම් බලාපොරොත්තු වෙන්නෙ ඒක භයානකයි. ඒ නිසා සිව්පසය පරිහරණය කරන හැටි විවිධ උපමාවලින් පෙන්වා තියෙනවා. පුත්‍ර මාංශ උපමාව කියන්නෙත් ඒ වගේ එකක්.

එතකොට ප්‍රත්‍යවේක්ශා කරල සිව්පසය පරිභෝග කළාම සාසනයට තියෙන ණය ගෙවෙනවා. නැත්නම් ණයට කෑවා වෙනවා. ඒ නිසා තමයි ප්‍රත්‍යවේක්ෂා නොකර සිව්පසය පරිහරණය කරන්න එපා කියන්නෙ. නමුත් මගඵල ලාභී තැන් පටන් ප්‍රත්‍යවේක්ෂා කළත් නොකළත් උන්වහන්සේලාට දායාද පරිභෝගය හිමිවෙනවා. මොකද දහමින් පිට නැති නිසා, එතැන් පටන් උන්වහන්සේලා මුළු කාලයම ධර්මානුකූලව තමයි ගමන් කරන්නෙ. සිත, කය, වචනයත් ධර්මානුකූලවයි හැසිරවෙන්නෙ. සසර ගමන කෙළවර වෙන තැනට තමයි වැඩ කටයුතු සිද්ධ වෙන්නෙ.

ඒ වගේම දුස්සීල වැඩ කරමින් සාසනික දේ පරිහරණය කළොත් ඒ පව් කවද ගෙවල ඉවර කරන්න වෙයිද කියන්න බෑ. අපාගත වෙලා යක්ෂ ප්‍රේත අත්බැව් ලබල, තිරිසනුන් වෙලා, උපනුපන් තැන අනන්ත කාලයක් ඒ පව් ගෙවන්න සිද්ධ වෙනවා. ඒක හරි භයානකයි. මේ කියන කාරණය භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිව් පිරිසටම අදාලයි. ඒ කවුරු වුණත් නමට විතරක් හිටියොත්, ඊට නොගැලපෙන වැඩ කළොත් වෙන්නෙ ඕකයි කියන කාරණය දැන ගන්න ඕන. ඒ නිසා හැම මොහොතක් ගානෙම අංශු මාත්‍රයකින් හරි නිවන් මග පූර්ණ කරගන්න උත්සාහ කරන්න ඕන. එහෙම කරන කෙනෙකුට මගඵල ලැබූ තැන් පටන් ඒ හිත තමයි එල්ල වෙලා එන්නෙ. අෂ්ඨාර්ය පුද්ගල කියන තැන් පටන් ඒ අදහස් සුද්ධතාවයෙන් යුතුව එන නිසා වැරදි තත්ත්වයක් එන්නෙ නෑ. ප්‍රත්‍යවේක්ශා කළ විදිහට තමයි ඒ අදහස් එන්නෙ. (ප්‍රත්‍යවේක්ෂාව පිළිබඳ වටිනා දීර්ඝ විස්තරයක් 53 කලාපයේ පළ කරල තියෙනවා)

ඒ නිසා මේ අති දුලබව පහළ වෙන බුද්ධ සාසනයක් එක්ක කටයුතු කරනවා කියන්නෙ සෙල්ලමක් නෙවෙයි. සිව් පිරිසම ඒ කාරණය හොඳට තේරුම් ගන්න ඕන. සිව්පසය පරිභෝග කරන්න ඕන ඒ ක්‍රමයට. ඒක නිකං වාක්‍ය කියල කන බොන, පරිභෝග කරන එකක් නෙවෙයි. ඒ අදහස තේරුම් අරගෙනයි කරන්න ඕන. **දහම් අවබෝධය එන්නෙ වචන, වාක්‍යවලින් නෙවෙයි අදහසින්. ඒ නිසා සිංහලෙන් කිව්වත්, පාලියෙන් කිව්වත් අදහසයි වටහා ගන්න ඕන.** එතකොට තමයි නිවන් මග වඩන්න පුළුවන් වෙන්නෙ. ඒ විදිහට මේ බුද්ධ සාසනයේ තියෙන බරපතළකම වටහා ගෙන සාසනික දේවල් නිවැරදිව පරිහරණය කරන්න හැමෝම වගබලා ගන්න ඕන. (සාසනික දෑ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකමත්, එසේ පරිහරණය කර ඇත්නම් ඒවා කමාකරගෙන නිදහස් වන ආකාරයත් දැක්වෙන තවත් අත්දැකීම් සහිත වටිනා ලිපි පෙලක් 78,79 කලාපවල අභයරතනාලංකාරය යටතේ ඉදිරිපත් කරල තියෙනවා.)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දේශිත සැගවුණු දහම් කරුණු ඇසුරින් සකස් කළේ*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

වෙලා තිබුනත්, පසුකාලීනව ගුරු මුෂ්ටි තියාගැනීම නිසා ඒ නිවැරදි ක්‍රමවේද යටගිහින් අඩුපාඩු සහිතව සටහන් වෙලා තියෙන්නත් පුළුවන්. ඒ නිසා ඒ හැම පැතිකඩක්ම සැලකිල්ලට අරගෙන තමයි උන්වහන්සේ ඒ විසඳුම් ලබාදීල තියෙන්නෙ. හැබැයි ඒ මොන විසඳුම ලබා දුන්නත්, අවසානයේ නිවන එල්ල කරලම තමයි ඒ හැම කටයුත්තක්ම සිද්ධ කළේ.

අන්න ඒ විදිහට ලබා දුන් ලෞකික වශයෙන් වටිනා පැරණි ක්‍රමවේද කිහිපයක් තමයි, ජීවත්ව සිටින්නා වූත් මතු පහළ වන්නා වූත් ජනතාවගේ අභිවෘද්ධිය තකා මේ සටහන් කරන්නෙ. උන්වහන්සේ මේ වෙනකොටත් වැඩ සිටිය නම්, මේ කාරණාවල හේතුඵල සම්බන්ධයත් සමග තවත් අමතර ධර්මානුකූල, විද්‍යානුකූල පැහැදිලි කිරීම් රාශියක් ලබාගන්න තිබුණා. නමුත් දැන් ඒ අවස්ථාව ගිලිහිලා ගිහින් තියෙන නිසා, උන්වහන්සේ විසින් ගිහි වතක සිටියදී සටහන් කරන ලද කරුණුවලින් මේ වෙනකොට ප්‍රායෝගිකව ප්‍රයෝජනයට ගන්න සහ හැමෝටම තේරුම් ගන්න පුළුවන් කාරණා විතරක් පුළුවන් විදිහට ගලපල සටහන් කරනවා.

හැබැයි මේ කියන කාරණාවල ඵල විපාක ඒ ඒ පුද්ගලයන් සසරේ එනකොට ගෙනා කර්ම ශක්තීටත් යටත්ව සිද්ධ වෙන බවත් තේරුම් ගන්න ඕන. ඒ කියන්නෙ **මේ කාරණා ප්‍රයෝග සම්පත්තියක් වශයෙන් හරියට යොදාගෙන හෝ ප්‍රයෝග විපත්තියක් වශයෙන් වැරදියට යොදා ගෙන හෝ ඇතිවන හොඳ හෝ නරක ඵල විපාක ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන් අනුව වෙනස් වෙන්න පුළුවන්.** ඒ නිසා මේ කාරණා පරම කරගෙන ඉන්න කියනවා නෙවෙයි. නමුත් තමන්ට ලැබෙන්න තියෙන හිමිකමක්/සම්පත්තියක් ලබාගෙන, කරදර බාධක මගහැර ගන්න ප්‍රයෝග සම්පත්තියක් වශයෙන් මේවා දැනගෙන භාවිතා කිරීම හැමෝටම වැදගත් වෙනවා. ඒ නිසා හැකියාව තියෙන අය ඒ ක්‍රමවේද ගලපල බලල තම තමන්ට පුළුවන් විදිහට අනුගමනය කරල යහපත අභිවෘද්ධිය උදාකර ගන්න.

## නිවසක් හදනකොට ළිඳේ සිට අත්තිවාරමට දුර අනුව ඵල විපාක

අත් රියන් 4, 5 - බිරිඳට විපත්
අත් රියන් 7 - ධන ලාභ
අත් රියන් 11 - බිරිඳට විපත්
අත් රියන් 12 - තිරිසනුන්ට හා දරුවන්ට විපත්
අත් රියන් 13 - ධන ලාභ
අත් රියන් 15 - ධන ධාන්‍ය ලාභ
අත් රියන් 20, 22 - බිරිඳට විපත්
අත් රියන් 23 - කටයුතු සඵල වීම හා ධන ලාභ
අත් රියන් 24, 25, 27- ධන ලාභ
අත් රියන් 28 - ධන හානි
අත් රියන් 31 - කටයුතු සඵල වීම
අත් රියන් 39 - පවුලේ කෙනෙකුට විපත්
අත් රියන් 40 - දැසි දසුන් ලැබීම
අත් රියන් 43 - දැසි දසුන් හා ස්වාමි විපත්
අත් රියන් 46 - පුත්‍ර හානි
අත් රියන් 47 - කටයුතු සඵල වීම
අත් රියන් 48 - ගෙහිමියාට විපත්
අත් රියන් 50 - දැසි දසුන් ලැබීම
අත් රියන් 51 - පවුලේ කෙනෙකුට විපත්
අත් රියන් 57 - ධන ලාභ
අත් රියන් 59 හෝ ඊට වැඩි නම් - විපාක නෑ, බලපෑම් නෑ.

ඒ අනුව ළිඳේ සිට නිවසේ අත්තිවාරමට සුභ දුරවල් වශයෙන් අත් රියන් 7, 13, 15, 23, 24, 25, 27, 31, 40, 47, 50, 57 ගැනීම සුදුසුයි.

- ගෙදර ප්‍රධානියාගේ, එහෙම නැත්නම් නිවස හදන්න බලාපොරොත්තු වන කෙනාගේ දකුණු අතේ (ස්ත්‍රී නම් වම් අතේ) මැද ඇඟිල්ලේ කෙළවරේ සිට වැළමිට දක්වා තියෙන දුර තමයි අත් රියනක් විදිහට ගැනෙන්නෙ.

- සමහර ගෙවල්වල හතර වටේටම ගේ හදල බිත්තිවලින් වටවෙන්න මැදට මිදුල අරගෙන තියෙනවා. ඒ විදිහට ගෙදර මැද මිදුල තිබීමෙන් දියුණුව අඩු වෙනවා.

## නිවාසවලට ප්‍රධාන දොරටු තැබීම (ඇතුල්වන හා පිටවන)

1) නැගෙනහිර (ධාන්‍ය) - වස්තු සම්පත් (වෘෂභ වර්ගයට ඉතා සුබයි)
2) දකුණ (ජය) - ජයග්‍රහණය
3) නැගෙනහිර - දකුණ (නන්ද) - ස්ත්‍රී විනාස
4) බටහිර (බර) - සම්පත් විනාස
5) බටහිර-නැගෙනහිර (කාන්ත) - පුත්‍ර ලාභ
6) බටහිර-දකුණ (මනෝ රාමා) - බොහෝ සැප සම්පත්
7) නැගෙනහිර-බටහිර-දකුණ (සුමුඛ) - භව භෝග සැප (ගජ වර්ගයට ඉතා සුබයි)
8) උතුර (දුර්මුඛ) - අප්‍රිය බව
9) උතුරු-නැගෙනහිර (උග්‍ර) - දුක් කරදර
10) උතුරු- දකුණ (රිපුද) - සතුරු බය
11) උතුරු- නැගෙනහිර- දකුණ (ධනද) - ධන සම්පත් (සිංහ වර්ගයට ඉතා සුබයි)
12) උතුරු- බටහිර (නාග) - විනාසය
13) උතුරු- නැගෙනහිර -බටහිර (අක්‍රාන්ධ) - ශෝක
14) උතුරු- දකුණ- බටහිර (විපුල) - යස ඉසුරු
15) උතුරු-දකුණ-නැගෙනහිර-බටහිර (විජය) - භව භෝග යස ඉසුරු (ද්වජ වර්ගයට ඉතා සුබයි)

- විශේෂයෙන් යම්කිසි ගෘහ වර්ගයකට (සිංහ, ගජ, වෘෂභ... ආදී වශයෙන්) ඉතා සුබයි කියල සඳහන් දිසාවන් ඒ වර්ගයට විශේෂයෙන් සුබයි. අනෙක් ඒවාට සාමාන්‍යයෙන් සුබයි. ඒ හැර අනෙක් වර්ග සියල්ල සැමට සුබයි.

ගෘහ වර්ග ගැන විස්තරයක් 41 වන කලාපයේ “වාස්තු විද්‍යාවේ හේතුඵල සම්බන්ධය” නම් ලිපිය යටතේ ඉදිරිපත් කරල තියෙනවා.

- නිවසකට ඇතුල්වෙන්න සහ පිටවෙන්න දොරටු තියෙනවා. ඒ දොරටු සමහර විට එකක්, දෙකක්, තුනක්, හතරක්... ආදී වශයෙන් විවිධ සංඛ්‍යාවලින් සහ විවිධ දිසාවන්ගෙන් තියෙන්න පුළුවන්. එතැනදි ප්‍රධාන දිසාවන් විතරයි යොදාගන්නෙ. උදාහරණ විදිහට යම්කිසි නිවසක නැගෙනහිරින් ඇතුල්වෙන්න සහ පිටවෙන්න එකම දොරටුවක් හෝ කිහිපයක් හෝ තියෙන්න පුළුවන්. තවත් නිවසක එකම දොරටුවක් දකුණු දිසාවෙන් තියෙන්න පුළුවන්. තවත් සමහර ඒවායේ නැගෙනහිරින් එක දොරටුවකුත් බටහිරින් තව දොරටුවකුත්, දකුණින් තවත් දොරටුවකුත් වශයෙන් දොරටු 3 ක් තියෙන්න පුළුවන්. මේ විදිහට විවිධාකාරයෙන් තියෙන්න පුළුවන්. දැන් මේ ක්‍රමයෙන් තමන්ටම හොයාගන්න පුළුවන් තමන්ගෙ නිවසේ දොරටු තියෙන්නෙ මොන දිසාවලින්ද කියල. ඒ අනුව ලැබෙන ඵල විපාකත් හොයාගන්න පුළුවන්.

එතකොට යම්කිසි විදිහකින් ඒ ලැබෙන ඵලවිපාක නරකනම්, අසුභ නම්, මේ තියෙන ක්‍රමය අනුව සුභ ඵල එන විදිහට ඒ දොරටු අදාල දිසාවන්ට සකස් කරල නිවැරදි කරගන්න පුළුවන්.

උදාහරණ විදිහට අංක 9 යටතේ පෙන්වන උතුරු-නැගෙනහිරට දොරටු 2 ක් හෝ කිහිපයක් හෝ යොදා සකස් කළ නිවසක් නම් ඒකෙ එල විපාකය තමයි දුක් කරදර. ඒකට වාස්තු විද්‍යාව අනුව කියන නම තමයි උග්‍ර. එතකොට ඒ පුද්ගලයට පුළුවන් අංක 11 යටතේ දැක්වෙන විදිහට ඒ දිසා 2 ට අමතරව දකුණු දිසාවෙනුත් තවත් අමතර දොරටුවක් යොදල ඒ දෝසය මගහරව ගන්න. ඒ අනුව ලැබෙන දොරවල් රටාවට වාස්තු විද්‍යාව අනුව "ධනද" කියල හඳුන්වනවා. එහෙම නැත්නම් අංක 1 න් දැක්වෙන විදිහට නැගෙනහිර දොරටුව/දොරටු විතරක් ඉතිරි කරල උතුරු දිසාවේ තියෙන දොරටුව/දොරටු ඉවත් කරන්න, වසා දමන්න පුළුවන්. එහෙමත් නැත්නම්, සියලු දොරටු නැගෙනහිර දිසාවට පිහිටන ආකාරයෙන් යොදන්න පුළුවන්.

ඒ වගේම එකම දිසාවෙන් දොරටු කිහිපයක් තියන්නත් පුළුවන්. හැබැයි එතකොට නිවසේ ඇතුල්වන පිටවන සහ ඇතුල් කාමරවල ඇති සියලු දොරටුවල (නාන කාමරය, වැසිකිළිය ආදියටත් උළුවහු තබා ගේ අත්තිවාරමට සම්බන්ධ කර ඇත්නම් ඒවත් අදාලයි) එකතුව ඔත්තේ සංඛ්‍යාවක් විය යුතුයි. ඒ වගේම එකම දිසාවට දොරටු කිහිපයක් තියනකොට පාදවලට ගැළපෙන විදියට තැබිය යුතුයි. ජනෙල් නම් සියල්ලේම එකතුව ඉරට්ටේ සංඛ්‍යාවක් විය යුතුයි. නමුත් දොරවල් සංඛ්‍යාව හෝ දොරවල් සහ ජනෙල් සංඛ්‍යාවේ එකතුව 9,13,19,29,39 සංඛ්‍යාවක් නොවිය යුතුයි. ඒවා දෝස සහිතයි. මේ විදිහට තමන්ට වඩාත් පහසු සහ අවශ්‍යතාවය තියෙන විදිහට මේ ක්‍රමය පාවිච්චි කරල නිවසේ දොරටු සුභඵල ලැබෙන විදිහට සකස් කර ගන්න පුළුවන්.

## සමාධියට යොමුවුන තවත් වාස්තු දේස

- හරියටම ප්‍රධාන දොර ඉදිරිපිට නිවසට සම්බන්ධ වී හෝ නොවී හෝ කුළුණු (කණු) තිබීම දෝසයක්. (දිරච්ච මළ කණුවක්, යකඩ කණුවක්... ආදී ඕනෑම කණුවක්) මේ දෝසය ස්ථම්භ දෝසය විදිහට හඳුන්වනවා. හැබැයි එතැනදි නිවසේ බිම සිට මුදුන් වහලට තියෙන උස වගේ දෙගුණයක් දුර සැලකීමෙන් ලැබෙන ප්‍රදේශය තුල කණු තිබුණොත් තමයි ඒ දෝසය බලපානවා කියන්නෙ. උදාහරණ විදිහට නිවසේ උස අඩි 20 ක් නම්, ප්‍රධාන දොරේ සිට ඉදිරියට අඩි 40 ක් ඇතුලත ඒ විදිහට කණු තියෙනවනම් විතරයි ඒ දෝසය බලපාන්නෙ. ඒ වගේම දොර ළඟ ඉඳගෙන කෙලින් බලනකොට දෙපැත්තෙන් අංශක 45 බැගින් ඇතුළත කණු තියෙනව නම් විතරයි දෝසයක් වෙන්නෙ. එතැනදිත් කෙළින්ම තියෙනව නම් දෝසය වැඩියි. නමුත් සමහර ගෙවල්වල වැටක්/ තාප්පයක් ආකාරයට කණු සිටවා තිබීම මේ දෝසයට අයිති වෙන්නෙ නෑ.
- නිවසේ කුරුස කණු තියෙනව නම් දෝස සහිතයි. ඒවා ඉවත් කරන්න. නැත්නම් වෙනත් සුදුසු ක්‍රමයකින් කඩන්නෙ නැතිව දොස් ඉවත් කර ගන්න.
- ප්‍රධාන දොර ඉදිරිපිට පොකුණු ඇත්නම්, පොකුණු වටේට සුදු වද වැටක් හෝ ඒ අතර සුදු තණකොළ වැටක් හෝ සිටුවීමෙන් ඒ දෝසය මග හරවා ගන්න පුළුවන්.
- නිවස ඇතුලත ප්‍රධාන දොර දෙපස හෝ වෙනත් ඕනෑම තැනක කුරුස ලකුණු තිබීම දෝස සහිතයි.
- මිරිස් ගල (ඇඹරුම් ගල) තියන කොට ගේ පැත්තට ඇඹරෙන්නෙ නැතිව නැගෙනහිරට හෝ දකුණට හෝ මුහුණලා ඇඹරෙන විදිහට හරවගන්න. ඒ කියන්නෙ අඹරන කෙනා ගේ පැත්තට මුහුණ දාල අඹරනවනම් ඒක දෝසයක්. ඒ ගෙදර අයට නැගී හිටින්න බෑ, කොච්චරවත් ඇඹරෙන්න ගන්නවා. හැබැයි ඒ මිරිස්ගල නැගෙනහිරට හෝ දකුණට හෝ හරවා ගන්න කියල කියන්නෙ, ඒ ගෙදර කුස්සිය නියමිත දිසාවෙන් හෙවත් ගිණිකොණ දිසාවෙන් පිහිටා ඇත්නම් පමණයි. මොකද ගෙදරක කුස්සිය තියෙන්න ඕන නියම විදිහට ගිණිකොණ දිසාවෙන්. ඒ නිසා යම් කිසි විදිහකින් කුස්සිය වෙනත් දිසාවක පිහිටා තියේනම් ගේ පැත්තට ඇඹරෙන්නෙ නැති වෙන්න, එලිය දිහා බලාගෙන ඇඹරෙන විදිහට **උතුර හැර** වෙනත් සුදුසු දිසාවකට මිරිස් ගල හරවගන්න.
- කෑම කාමරයේ සිට කුස්සියට ඇතුල්වන තැන හෝ ඒ විදිහට කාමර 2 ක් එකිනෙකට යා වෙන තැන හෝ කාමරයේ උළුවස්ස බිත්ති කුරුසයක් නොවන ආකාරයට සකසා ගන්න.
- මුදුන් යට ලීයේ කුරුපා ඔත්තේ සංඛ්‍යාවක් තියේනම් දෝසයක් එන නිසා ඉරට්ටේ සංඛ්‍යාවක් කරගන්න. ඒ වගේම වහලයේ සමස්ථ කුරුපා සංඛ්‍යාවත් ඉරට්ටේ සංඛ්‍යාවක් නම් වඩා හොඳයි.
- ප්‍රධාන දොරට කෙලින් බිත්ති කැබිනට්ටුවක් තිබීම දෝසයක් නිසා එවැන්නක් තියේ නම් ඉවත් කර ගන්න. මෙතැනදි බිත්ති කැබිනෙට්ටුවක් කියල අදහස් කරන්නෙ බිත්තියේම කුහරයක් සාදා ඒ මගින් හදල තියෙන කැබිනෙට්ටුවක්. එතකොට ඇතුල් වෙනකොටම හිස් බවක් ඇති වෙලා කළු කිරණ ගමන් කරනවා. හරි හම්බකළත් ඉතිරියක් නැතිව යනවා. එහෙම නැතිව බාහිරින් ලීවලින් හදපු කැබිනෙට්ටුවක් තැබීමෙන් මේ දෝසය එන්නෙ නෑ.

හැබැයි ලීවලින් හැදුවත් වීදුරු යොදා තියේ නම් ඒ වගේ එකක් ප්‍රධාන දොරටුව කෙලින්ම තිව්වම කිරණ පරාවර්තනයක් සිද්ධ වෙලා ප්‍රතිබිම්භ ඇති වෙන නිසා ඒකත් දෝස සහිතයි. රූපවාහිනී යන්ත්‍රයක් වුනත් ඒ විදිහට තිව්වොත් කිරණ පරාවර්තනය වෙන නිසා දොස් එනවා. ඒ නිසා ඒවා ප්‍රධාන දොරට එක එල්ලේ අහු නොවෙන්න වෙනත් සුදුසු ස්ථානයකින් තැන්පත් කර ගන්න.

- මුදුන් යට ලීයට අහුවන ජනෙල් තියේනම් දෝසයක් එන නිසා ඉවත් කර ගන්න. නැත්නම් වෙනත් ක්‍රමයකට දොස් ඉවත්කර ගන්න.
- කුස්සියේ ජනේලයකින් හවස් යාමයේ බස්නාහිරින් එන මළහිරු ලිපට හෝ පෝරණුවට වැටීම දෝසයක්. මොකද ඒ ඔස්සේ යම් යම් අමනුස්ස බලවේග ඇදිල එන්න පුළුවන්. කුස්සිය කියන්නෙ මනුස්සයො කනබොන, ජීවත් කරවන තැන නිසා ඒ ආහාරවලටත් අමනුස්ස බලපෑම් එන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවක පිත්තල කම්බිවලින් සකසා ගත් කතිර 3 ක් සාදා අදාල ජනේලයේ පිට හෝ ඇතුල් පැත්තෙන් ජනෙල් රාමුවට අල්වා ගැනීමෙන් ඒ දෝසය මගහරවා ගන්න පුළුවන්. ඒ කියන්නෙ වෙන වෙනම කතිර තුනක් හදන්න අවශ්‍ය නෑ. තනි කම්බියක් ගත්ත නම් ජනෙල් රාමුව හරහා ඇණවලින් කතිර තුනක් හිටින විදිහට හරහට ඇදගන්න පුළුවන්.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**






# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගය ඇතුළු තවත් රෝග රැසකට ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප එකොළහකින් (88, 89, 90, 91, 92, 93, 94, 95, 96, 97, 98) හඳුන්වා දුන්නා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ වස විස කෑවීම නිසා හට ගත් වකුගඩු ආබාධ ඇතුළු තවත් රෝග රැසකට උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් වටිනා ප්‍රත්‍යක්ෂ ඖෂධ කිහිපයක්.

ඒ වගේම **විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ ඖෂධ හදාගෙන පාවිච්චි කරන්න පෙර, රෝගවලට මුල් වූ කර්මවේග යම් පමණකට හෝ ගෙවා හරින්න, මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම පුළුවන් තරම් අනුගමනය කරන්න** (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාමයි හට ගන්නෙ. ඒ විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බෙහෙත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

ඒවගේම විශේෂ ආශිර්වාදපූජාවන්ට, විශේෂ පුණ්‍යානුමෝදනාවන්ට සහ ආර්ය මෙත් වැඩීම්වලට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට හෝ ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්. ඒ නිසා ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න කටයුතු කරන්න. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන, හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

ඒ වගේම මේ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදීමත්, ඒ බෙහෙත් හදන අවස්ථාවලදීත්, මේ සඟරාවෙන් මීට පෙරත් විවිධ අවස්ථාවලදී සඳහන් කරල තියෙන දැහැමි ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් ඖෂධවල ගැබ් වන ශක්තිය වැඩි වෙලා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. **මේ අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ එක්තරා අනුපාතයකට නිසා ඒ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්නත් පුළුවන්.** පින්වතුන්ගේ පහසුව පිණිස මේ සඟරාවේ සඳහන් කරන ප්‍රබල බෙහෙත් වර්ග බොහොමයක් දැනටමත් නිෂ්පාදනය කරල, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා. (විමසීම් - 0773108516, 0717122001, 0771620072)

## රක්තානු අඩුවීම හෙවත් ලේ දියවෙන ආබාධයක් පිළිබඳවයි.

හදවතේ දෙපස බිත්තිවල තියෙන ග්‍රන්ථිවල නිපදවෙන හෝමෝනයක් තියෙනවා. මේ රෝගී තත්වය අන්න ඒ ග්‍රන්ථි දුර්වල වුනාම ඒ හෝමෝනය අඩු වීමෙන් ඇතිවෙන ආබාධයක්. මාරාන්තික විදිහට පෙනුනත් හෘදය පෝෂණයෙන් සුව කරගන්න පුළුවන්.

දැනට අරි සිතුම් සුවසෙත බෙහෙත් නිෂ්පාදනාගාරයෙන් ලබාදෙන පෝෂණ පෙති අවුරුද්දක් උදේ දවල් රාත්‍රී වරකට 2 බැගින් අරගෙන එළකිරි හෝ එළුකිරි පත කාලක් බීමෙන් මේ රෝගී තත්වය සුවකර ගන්න පුළුවන්. මේ මගින් ශරීරයේ සියළු ඉන්ද්‍රියන් ප්‍රාණවත් වෙනවා. නිරෝගී වෙනවා. සාමාන්‍ය මට්ටමේ හීමොෆීලියාවත් සුව වෙනවා.

## පාකින්සන් රෝග සමන පෙති/ගුලි

දැහැමි ක්‍රමයකට ලබාගත් මී හරක් අං සුළඟේ යන මට්ටමට කුඩු කරගෙන හෝ ගලගා ගෙන දෙහි ඇඹුලින් අනාගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල හෝ ඒ ප්‍රමාණයම පෙති විදිහට හෝ හදාගෙන වේල ගන්න. උදේ හයට, හවස හයට 1 බැගින් අරගෙන වතුර ටිකක් බොන්න. ඒ විදිහට මාස 3-6 දක්වා ගන්න. වෙව්ලුම නැවතිලා කාය ශක්තිය වැඩෙනවා.

## තැලසීමියා සමන පෙති/ගුලි

නෙල්ලික්කා ගෙන්දගම් විස හැරල ග්‍රෑම් 50 යි, සහිඳ ලුණු ග්‍රෑම් 25 යි, ඉඟිනි ඇට කුඩු ග්‍රෑම් 250 යි, රසකිඳ පිටි හෝ වියලි කුඩු ග්‍රෑම් 250 යි.



මේ සියල්ල හොඳින් මිශ්‍ර කරගෙන දෙහි ඇඹුල්වලින් අනාගෙන බණ්ඩක්කා ඇට ප්‍රමාණයට ගුලි කරල හෝ ඒ ප්‍රමාණයම පෙති විදිහට හෝ හදාගෙන වේලල තියාගන්න. පැය 8 කට එක බැගින් මාස 6 ක් ගන්න. ඒත් සමගම මීට පෙරත් මේ සඟරාවෙන් (71, 97 කලාපවලින්) හඳුන්වා දුන් කහ- නිල් ප්‍රබල උණ පැණිය පැය අටෙන් අටට වේල් 5 ක් මුලින් අරගෙන නවත්වල, නැවතත් දින 21 කට පසුව ඒ වගේම වේල් 5 ක් ගන්න. මේ විදිහට දින 21 න් 21 කට අත්හරිමින් 7 වතාවක් දෙන්න. මේත් සමගම 95 කලාපයෙන් හඳුන්වා දුන් අත්තික්කා පැණියත් මාස 3 ක් දෙන්න.

මේ මගින් ඇලදිවේ අපද්‍රව්‍ය ඉවත් වෙනවා. දිවිමකුළු විසක් මුල් කරගෙන පරම්පරාවෙන් ජානවලට ගිහින් ඇටමිදුළු විසකළාම ඇතිවන සෛල විකෘතියක් හේතුවෙන් ඇතිවන ආබාධයක් වන තැලසීමියාව සුව වෙනවා. ඇට මිදුළු අක්‍රිය වීමෙන් ඇතිවෙන දියවැඩියාවත් සුව වෙනවා. වකුගඩු ආබාධ සුවයටත් ආධාර වෙනවා.

## අට්ඨි පෝෂණ පෙති/ගුලි

මේ සඳහා දැහැමි ක්‍රමයකට ලබාගත් බිත්තර කටු අවශ්‍යයි. ඒ කියන්නෙ මේ බෙහෙත වෙනුවෙන් බිත්තර කඩන්නෙ බිඳින්නෙ නැතිව වෙන කාරණයක් සඳහා යොදා ගත් බිත්තරවල ඉවත් කරන කටු යොදා ගත යුතුයි. **යම්කිසි විදිහකින් ඒ වෙනුවෙන්ම කියල බිත්තර කඩල කටු යොදා ගත්තොත්, ප්‍රාණඝාත අකුසල කර්ම රැස් කිරීමට අමතරව මේ බෙහෙත ප්‍රත්‍ය නොවන බවත් දැනගත යුතුයි. (බිත්තරයේ ඇති ජීවය ගැන දැන ගැනීම සඳහා 10 වන කලාපය බලන්න.)**

දැන් ඒ විදිහට ලබාගත් බිත්තර කටු හෝදල වේලගෙන කැබලි කුඩු කරල පුච්චාගෙන එන අළු, දෙහි ඇඹුල්වලින් ගුලි කරන්න පුළුවන් පදමට අනාගෙන බණ්ඩක්කා ඇට පමණට ගුලි කරල හෝ ඒ ප්‍රමාණයම පෙති විදිහට හෝ හදාගෙන වේල ගන්න.

උදේ දවල් රාත්‍රී ආහාරයට පසු 2 බැගින් ගන්න. අවුරුදු පහෙන් පහල දරුවන්ට 1 බැගින් දෙන්න. ඒ විදිහට මාස 9 ක් ගැනීම ප්‍රමාණවත්. මේ මගින් ඇට (අස්ථි) දිරීම, නොවැඩීම, ඇඳවීම.. ආදී ආබාධත්, ආතරයිටීස් රෝගයත් සුව වෙනවා.

## කොලෙස්ටරෝල් සමන පෙති/ගුලි

කිඩාරං අල සුද්ද කරල කැබලි කරගෙන වණ්ඩුවේ විනාඩි 30-40ක් පමණ තම්බගෙන වේලල පිටි කරගෙන ග්‍රෑම් 200 යි. බෙත් ගොටුකොළ ඉස්ම මිලි ලීටර 225 යි (මුලින් වතුර නොදමා ඉස්ම විතරක් අරගෙන මදි වුනොත් විතරක් නැවත වතුර ටිකක් එකතු කරගෙන මිරික ගන්න). පිරිසිදු තල තෙල් මිලි ලීටර් 75-150 අතර සුදුසු ප්‍රමාණයක්. මේ සියල්ලම එකතු කරල අනාගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල හෝ ඒ ප්‍රමාණයම පෙති විදිහට හෝ හදාගෙන වේලගන්න.

දිනපතා රාත්‍රී නින්දට පෙර ගුලි/ පෙති 4 ක් අරගෙන වතුර ටිකක් බොන්න. ඒ විදිහට මාස 3 ක් ගන්න.

මේ මගින් ඇලදිව, බඩ පපුව වගේම සියලු අභ්‍යන්තර ඉන්ද්‍රියන්ගේ සහ අතපයේ අමතරව බැඳුණු තෙල් සහ සෙම ඉවත් වෙලා ලේ නහර ප්‍රකෘතිමත් වෙනවා. ජීර්ණ පද්ධතිය ක්‍රමානුකූලව නිරෝගී වෙනවා. වෙහෙස දුරු වෙනවා. හෘද ස්පන්දනය අක්‍රමවත් වීම දුරුවෙලා හෘදය ශක්තිමත් වෙලා ක්‍රමානුකූලව ක්‍රියාත්මක වෙනවා. ඒ නිසා විද්‍යුත් කෝෂ හෙවත් බැටරි යෙදීම අනවශ්‍ය වෙනවා. රුධිර පීඩනය සමනය වෙනවා.

## රුධිර කායාබාධ සමන පෙති/ගුලි

සාදික්කා ගහේ පස් පංගුව වේලල, එකකින් ග්‍රෑම් 100 බැගින්, ඇට සමග වියළි නෙල්ලි ග්‍රෑම් 250 යි, සුදුරු ග්‍රෑම් 250 යි.

මේවා කුඩු කරල, අමු අඹ කොටාගෙන මිරිකගෙන එන ඉස්ම බෝතල් 1½ කින් අනාගෙන (අවශ්‍ය වුනොත් විතරක් නටවා නිවාගත් වතුර ටිකක් දමන්න) පවනේ හෝ සුළං යන්ත්‍රයකින් හෝ වේලගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල හෝ ඒ ප්‍රමාණයම පෙති විදිහට හදාගෙන වේලගන්න. උදේ හිස් බඩ සහ රාත්‍රී නින්දට පෙර 2 බැගින් අරගෙන වතුර ටිකක් බොන්න.

මේ මගින් සියළු හෘදයාබාධ දුරු වෙනවා. තැලසීමියා ඇතුළු රුධිර සෛල බිඳෙන ආබාධත්, ලේ කැටි නොගැසීමේ ආබාධයත් දුරු වෙනවා. ඇලදිව යථා තත්වයට පත්වෙනවා. අංශභාග, දියවැඩියා, ලියුකේමියා ඇතුලු කොර රෝග, බිබිලි, ගෙඩි මතුවෙන රෝග, හිසේ සිරුරේ තුවාල සමනය වෙනවා. අධි රුධිර පීඩනය සුව වෙනවා. මාස 1-4 දක්වා ගැනීම ප්‍රමාණවත්.

## ඇදුම සමන බාඳුරා පෙති/ගුලි

බාඳුරා වතුර බෝතල් 1 යි, දිය තිප්පිලි ඉස්ම බෝතල් ½ යි, නික පොතු සහ නික කොළ ඉස්ම මිලි ලීටර 250 යි. (පොතු සහ කොළ වෙන වෙනම කොටාගෙන ඉස්ම අරගෙන මිශ්‍ර කරල දෙකෙන්ම මිලි ලීටර 250 ක් හදාගන්න. අවශ්‍ය වුනොත් උණුකර නිවාගත් වතුර මිලි ලීටර 150 ක් එකතු කරන්න).

සුදුරු ග්‍රෑම් 333 යි, කළුදුරු ග්‍රෑම් 333 යි කරවෙන්න බැද ගෙන කුඩු කරල ඉහත සියලු ඉස්මෙන් අඹරගෙන කෝපි ගෙඩි බාගයක් තරමට ගුලි කරල හෝ ඒ ප්‍රමාණයම පෙති විදිහට හෝ හදාගෙන වේල ගන්න.

උදේ හිස් බඩ සහ රාත්‍රී නින්දට පෙර 2 බැගින් මාස 3-6 දක්වා සුදුසු පරිදි ගන්න. අවුරුදු 7 න් පහල ළමයින්ට නම් පෙති/ගුලි 1 යි. ඊට වැඩි නම් 2 යි.

මේ මගින් කල් ගිය ඇදුම, පීනස, සෙම් රෝග සුව වෙනවා. උගුරේ සෙම බැඳීම, සෙම නිසා කතා කරන්න බැරි වීම, කටහඬ ගොතවීම, ඔළුව තදවීම, ඇස් නිලංකාර වීම, කන් ඇසීමේ දුබලතා, හනු තද වීම, අකලට හිසකෙස් යෑම, හිසකෙස් පැසීම, ඇස් යට කැක්කුම, බෙල්ල හිරවීම, පපුව මැදින් එන කැක්කුම, බඩ පුරවා දැමීම, අම්ල පිත්ත ප්‍රදාහය, ඇලදිවේ සෙම හා තෙල් බැඳීම... ආදී සෙම් ආබාධ නිසා ඇතිවෙන රෝග සුව වෙනවා.

ඒ වගේම අධි රුධිර පීඩනය, කොඳු ඇටපෙලේ කැක්කුම, කකුල් කැක්කුම සහ ඉදිමුම සුව වෙනවා. නියපොතු පැසවීම සුව වෙනවා. හුස්ම ගැනීමේ අපහසුතාවය ආදියත් සුව වෙනවා. සෙම නිසා එන උණ, කාන්තාවන්ගේ ගර්භාෂ ආබාධ සුව වෙනවා.

**සැ.යු.** දිය තිප්පිලි, ගස්ලබු, තලපිති, පැණි කොමඩු, දෙළුම්... ආදී දිය අධික වර්ග හැර කොළ, මුල්, පොතු ආදී අනෙක් වර්ග කොටා මිරිකගන්න කොට ඒ අමුද්‍රව්‍ය කිලෝ 1 ක් සඳහා නටවා නිවාගත් වතුර බෝතල් බාගයකුත්, වියළි ද්‍රව්‍ය කිලෝ 1 ක් සඳහා නටවා නිවාගත් වතුර බෝතල් 1½ කුත් දමා මිරිකා ගත යුතුයි.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවන් ලැබ දෙන

# කමටහන්...

19 කොටස



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් කිහිපයක් මෙවරත් සටහන් කරනවා.

මේ සමහර කමටහන් ගාථා උන්වහන්සේ විසින් සමාධියෙන් මතු නොකළත්, දීර්ඝ කාලයක පටන් පැවතෙන ගාථා කොටස් භාවිතයෙන් ඇත් වුණ කාලයක, උන්වහන්සේ විසින් අත්හදා බලල ප්‍රතිඵල අත්පත් කරගෙන අත්දැකීම් සහිතව ප්‍රකාශ කරල තියෙන නිසා ලෝකයාගේ යහපත පිණිස සටහන් කරනවා.

ඒ වගේම සමහර ගාථා කොටස් එක එල්ලේම නිවන් මගට සම්බන්ධ නොවුණත්, ගෙවල් දොරවල්වල, වගා භූමිවල තියෙන අනවින, කොඩිවින, භූමි පාළු වගේම තමන්ට එන අමනුස්ස කරදර, මාර බන්ධන, ඇස්වහ කටවහ... ආදිය දුරු කරගෙන ලෞකික අභිවෘද්ධිය සලසගෙන නිවන් මග වඩාගෙන යන්නත් උපකාරී වෙනවා. ඒ වගේම සමහර කර්මස්ථාන මීට පෙරත් සඳහන් කළ කර්මස්ථානවලට සමාන බවක් පෙනුනත්, ඒවායේ යම් යම් වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ අවස්ථාවන්ට අනුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ නිසා තමන්ට වඩාත් ගැලපෙන කර්මස්ථාන තෝරගන්න. සමහර කර්මස්ථානවල යටින් ඉරි ඇඳි කොටස්, ඒ ඉදිරියෙන් දක්වා ඇති වාර ගණන වඩන්න.

කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කමටහන් වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත් කරගන්න පුළුවන්.

359.<u>දිවැස් ලැබීමට</u><br>
සූර්යා මෙන් පෙනේවා<br>
වැසුම් ඉවත් වේවා<br>
බාධක ඉවත් වේවා

360.මමද සියලු සත්වයෝ<br>
බුද්ධ සූරිය ආලෝකයෙන්<br>
<u>ආලෝක වෙත්වා ///</u><br>
නිවන් සුවයෙන්<br>
<u>සුවපත් වෙත්වා ///</u>

361.මමද සියලු සත්වයෝ<br>
ත්‍රිවිධ රත්නාලෝකයෙන්<br>
ආලෝක වෙත්වා<br>
නිවන් සුවයෙන්<br>
සුවපත් වෙත්වා

362.සම්මා සම්බුදු සරණයි<br>
මමද සියලු ලෝක සියලු සත්වයෝ<br>
නිදුක් වෙත්වා<br>
නිරෝගී වෙත්වා<br>
සුවපත් වෙත්වා<br>
දුකෙන් මිදෙත්වා<br>
අවංක වෙත්වා<br>
පිරිසිදු වෙත්වා<br>
පිවිතුරු වෙත්වා<br>
පබසර වෙත්වා<br>
සියලු කාය චිත හිර බන්ධන<br>
<u>නිරෝධ වෙත්වා</u> (7 වරක්)

ඉහත කර්මස්ථානය තමන් තුල දහම් ගුණ, සාසන සීල ගුණ වැඩෙන්නත්, අප්‍රමාණ මෙත්තා සහගත ගුණයක් ලෝකයාට පතුරුවමින් ලෞකික ලෝකෝත්තර සියලු ගුණ වැඩෙන්නත් හේතු වෙනවා. ඒ වගේම තමන්ට බැඳිල රැඳිල තියෙන යම් කිසි අමනුස්ස බන්ධන හෝ එබඳු පාප දෝසාන්ධකාර තියේනම් ඒවත් සුද්ධ වෙලා ක්‍රමානුකූලව නිවන් මග සකස් වෙන්න, බාධක කරදර නැති වෙලා සැනසිල්ල උදා වෙන්න හේතු වෙනවා.

363.මමද සියලු සත්වයෝ සියලු ලෝක කෙරෙහි<br>
නිවනම නාථයි<br>
නිවනම වෙත්වා

364.මටද හැමදෙනාටද<br>
තුච්ඡ වූ නින්දිත වූ ලාමක වූ පංච කාමයෝ<br>
ලෝභ ද්වේශ මෝහයෝ<br>
<u>නිරෝධ වෙත්වා</u> (7 වරක්)

365.මටද හැම දෙනාටද<br>
තුච්ඡ වූ නින්දිත වූ ලාමක වූ පංච කාමයෝ<br>
රාග ද්වේශ මෝහයෝ<br>
<u>නිරෝධ වෙත්වා</u> (7 වරක්)<br>
<u>නිවන් සුවයෙන් සුවපත් වෙත්වා</u> (7 වරක්)

366.සම්මා සම්බුදු සරණයි<br>
මමද සියලු ලෝක සියලු සත්වයෝ<br>
සියලු ලෝක උපාදානයෙන්<br>
<u>නිදහස් වෙත්වා</u> (7 වරක්)<br>
<u>නිබ්බාන පරම සුඛයෙන් සුඛිතතර වෙත්වා</u> (3,4,7 වරක්)

(මේ කර්මස්ථානයේ අවසන් කොටස 3,4,7 ආදී වශයෙන් තමන් කැමති වාර ගණනක් වඩන්න. හිත වැඩෙන කොට කොච්චර ප්‍රමාණයක් වඩන්න ඕනද කියල තමන්ටම වැටහෙනවා.)

මේ කර්මස්ථානයේ තේරුම දැන ගැනීමත් වැදගත්. සම්මා සම්බුදු සරණයි කිව්වම සම්මා සම්බුද්ධ කියන වචනයේ අර්ථ දෙකක් එනවා. එකක් තමයි ලොව්තුරා බුදු පියාණන් වහන්සේගේ ජීවමාන ගුණයට සම්මා සම්බුද්ධ කියල කියනවා. අනික "සං" කියන ලෝක පැවැත්මේ එකතුවෙන් මිදිල (මා), සම්භවය හෙවත් ලෝකයේ පහළ කිරීම උදුරා දමනවා (සං+බු+උද්ධ). ඒක තමයි තමන්ට තියෙන පිහිට. ඒක තමයි පරමාර්ථ අර්ථය. "සං" කියන එකතුවෙන් මිදිල සම්භවය උදුරා දමල තමන්ට පිළිසරණ කර ගත්තම ඒ තමයි නිවන.

භවය උදුරන්න නම් ලෝකය කෙරෙහි තියෙන ඡන්දරාගය, උපාදානය උදුරා දැමිය යුතුයි. එතකොට තමයි භව නිරෝධ වෙන්නෙ. භව උදුරල දැම්මම ජාතියත් උදුරා දැම්මා වෙනවා. එතකොට ජාති නිරෝධයි. ඒ සඳහා පූර්ණ කරගත්ත සම්මා සම්බුදු පියාණන් වහන්සේගේ ගුණ අර්ථය තමයි සම්මා සම්බුද්ධ කියන්නෙ. දැන් මාර්ගය වැඩෙන්න මේ අර්ථ දෙකම අවශ්‍යයි. අනන්ත පාරමිතා පුරපු බුදු රජාණන් වහන්සේගේ අනන්ත ගුණ බලයෙන් අපිට පිළිසරණ ලැබෙනවා. ඒ වගේම මේ ලෝකයේ "සං" කියන පැවැත්මෙන් මිදිල ලෝකයේ පැවැත්ම, හටගැන්ම උදුරා දමල උත්තම වන්නා වූ නිවන පිළිසරණ කර ගන්නවා.

මේ කර්මස්ථානය දෙතුන් වතාවක් වඩා ගෙන යනකොට ඔය අර්ථ දෙකම වැටහෙනවා. එකක් බුදු පියාණන් වහන්සේගෙන් ලැබෙන පිළිසරණ. අනෙක තමන් විසින් කළ යුතු වැඩ පිළිවෙල. යම් තැනක ඡන්දරාගයෙන් බැඳුන නම් ඒ නිසාමයි "සං" කියන එකතුවක් හටගන්නෙ. ඒක තමයි සම්භවය කිව්වෙ. ඒ ඡන්දරාගයෙන් මිදුන නම් උද්ධ කළා, උදුරා දැම්ම වෙනවා. එතකොට භව නිරෝධයි, ජාති නිරෝධයි. ජාති නිරෝධ නම් ජරා මරණ.... ආදී සියල්ල නිරෝධයි, දුකෙන් නිදහස්. එහෙනම් මේ බුදු පිළිසරණින් භවය උදුරා දමන්න රුකුල් ලැබෙනවා. කර්මස්ථානය සිහි කිරීමෙන් දහම් මග වැඩෙනවා.

ඊළඟට, "මමද සියලු ලෝක සියලු සත්වයෝ" කිව්වමත් අර්ථ දෙකක් තියෙනවා. මෙතැනදි දෘෂ්ටියෙන් ගන්න "මම" අත්හැරල ලෝක සම්මතයේ "මම" කියන සංඥාව සිහි කරන්න ඕන. ඒ කියන්නෙ "මමෙක් ඇත/නැත" කියල අන්ත දෙකෙන් අදහස් ගන්නෙ නැතිව "මම" කියන්නෙ පටිච්ච සමුප්පන්න හේතුඵල ක්‍රියාවලියක් කියල දකින්න ඕන. ඒ හේතුඵල ක්‍රියාවලියෙන් විද්‍යමාන වෙන්නෙ මායා දර්ශනයක්.

ඒ වගේම "සියලු ලෝක" කියනකොට ඇස, කන... ආදී අධ්‍යාත්මික ලෝකයත් රූප, ශබ්ද... ආදී බාහිර ලෝකයත් කියන දෙකම අයිති වෙනවා. මේ දෙක සමථයට පත් වෙනකොට තමයි මග වඩාගෙන යන්න පහසු වෙන්නෙ. එතැනදි අධ්‍යාත්මික සමථයට බාහිර සමථය රුකුල් වෙනවා. ඇස, කන... කියන මේවා වටිනවා කියල අදහස ගත්තොත් අධ්‍යාත්මික වශයෙන් ඡන්ද රාගයෙන් බැඳෙනවා. ඒ වගේම රූප, ශබ්ද... හොඳයි වටිනවා කියල ඒවා කෙරෙහි හිත බැඳුනොත්, බාහිර ලෝකයට ඡන්දරාගයෙන් බැඳෙනවා. එහෙනම් මේ කාමච්ඡන්ද දෙකෙන්ම මිදෙන්න ඕන.

ඊළඟට "සත්ව" කිව්වම හැඩරුවක්, දිග පළලක් තියෙන එහෙම අදහසක් ගන්නෙ නැතිව, හිතයි ගතයි දෙකට හෙවත් පංචස්කන්ධයට අයිති යමක් ඇත්නම් ඒකෙ ඡන්දරාගයෙන් බැඳීමට "සත්ව" කියනවා කියන අදහස ගන්න ඕන. "සියලු සත්ත්ව" කිව්වමත් ඡන්දරාගයෙන් සත් තත්ත්වයෙන් බැඳිල තමයි ඒ ඒ අත්බැව්වල සැරි සරන්නෙ. ඉන්ද්‍රියන් හයක් සහිතව තමයි ලෝක සම්මත සත්වයා බිහිවෙන්න. ඒක මායා දර්ශනයක් විදිහට තමයි පේන්නෙ. ඡන්ද රාගයක් තියෙනවද, ඒ තැන්වල තමයි ඇලි ඇලී ගමන් කරන්නෙ. අන්න ඒ ඇලෙන ස්වභාවයට තමයි සත්ව කියන්නෙ. ඒකට දිග පළලක්, උස මහතක් කියන්න බෑ. මනසේ මුලාව නිසා හටගන්නා ලෝක පැවැත්ම වටිනවා කියන දෘෂ්ටිය එක්ක පවතින දෙයක්. අන්න ඒ නිසා තමයි සත්ව ගොඩනැගෙන්නෙ.

ඒ නිසා "සත්වයා ඇත/නැත" කියන සාස්වත/උච්ඡේද දෘෂ්ටි දෙකට බහින්නෙ නැතිව මේ විදිහට හේතු ඵල දකින්න පුරුදු වෙන්න ඕන. සත්ව කියන්නෙ මේ ඇලෙන බැඳෙන ස්වභාවය. ඒ තුළ බැඳෙන තාක් කල් පංචස්කන්ධයෙන් මිදෙන්න බෑ. අනාගතය බලාගෙන පැවැත්ම ගොඩ නගන කොට ඒකෙ ප්‍රතිඵලයක් විදිහට ඇස, කන... ආදී ඉඳුරන් හයක් සමග පැවැත්මක්/ සත්වයෙක් ගොඩනැගෙනවා. අන්න ඒ පැවැත්ම ගොඩ නැගෙන්න හේතුව දැනගන්න ඕන. සත්ව දකින්න ඕන ඒ විදිහට. (මේ පිළිබඳව වැඩිදුර පැහැදිලි කිරීම් "ආර්ය මෛත්‍රී භාවනාවෙන් ලබන සැනසීම" නම් පොතේ සටහන් කරල තියෙනවා)

ඒ නිසා තමයි, "සියලු සත්වයෝ සියලු ලෝක උපාදානයෙන් නිදහස් වෙත්වා" කියන්නෙ. සියලු ලෝක කිව්වම ඇස, කන...රූප, ශබ්ද.. මේ සියල්ලම අයිතියි. ඒ සියලු ලෝක උපාදාන කළාම තමයි ඡන්දරාගය ගොඩනැගෙන්නෙ. සියලු ලෝකයන් කෙරෙහිම ඡන්දරාගය අත්හැරියම අරිහත්වය පූර්ණ කළා/ සසර ගමන කෙළවර කළා වෙනවා. ඊට පස්සෙ සියලු දුකින් නිදහස් වෙන්න පිරිනිවන්පාන කල් ඉන්න වෙනවා. තමන්ටත් සියලු සත්වයන්ටත් තියෙන එකම පිළිසරණ එච්චරයි.

ඔය විදිහට තේරුම් අරගෙන කමටහන වඩා ගෙන යනකොට සියලු සතුන්ට අප්‍රමාණ මෙත් සිත වැඩුවා වෙනවා. ලෝකයේ අසාරත්වය නුවණින් දකින කොට අත්හැරීමක් නොඇල්මක් ඇත්ද ඒක ශාන්තයි ප්‍රණීතයි කියල දකිනවා. දුකින් නිදහස් වීමේ සුවය දකිනවා. එතකොට නිවනට හිත පිහිටනවා. ලෝකය අසාරයි කියල දැකල අත් හැරෙනකොට ඒ තමයි ප්‍රාස්වාසය. නිවන ශාන්තයි ප්‍රණීතයි කියල දැකල ඒකට හිත බැඳෙන කොට ඒ තමයි ආස්වාසය. මේ තමයි ආර්ය විනයේ පෙන්වන ආනාපාන සතිය. ඒ අර්ථයත් මේ කමටහනේ ගැබ් වෙලා තියෙනවා.

367.මමද සියලු ලෝක සියලු සත්වයෝ
වීතරාගී වෙත්වා
වීතදෝසී වෙත්වා
වීතමෝහී වෙත්වා
නිබ්බාන නාථයි
නිබ්බාන වෙත්වා ///

මේ කමටහනේ අදහස දැන ගැනීමත් වැදගත්. භාවනාවක් කරනකොට, කමටහනක් වඩනකොට හැම තිස්සෙම ඥාන සම්ප්‍රයුක්ත වෙන්න ඕන. ඒ වගේම සෝමනස්ස සහගත හෙවත් සතුටු වෙන්න පුළුවන් දෙයක් වෙන්න ඕන. ඒකෙන් ලැබෙන ඵලය දැකල එහෙම සතුටු වෙන්න පුළුවන්නම්, ඒ ඵලයේ වටිනාකම යම් මට්ටමකට හරි දැක්ක නම්, ඒකෙන් සදාතනික යහපතක් වෙන බව දැක්ක නම්, ඒක බෞද්ධයෙකුට සතුටු වෙන්න පුළුවන් දෙයක්. නිවනට හේතුකාරක වන, ඒ සඳහා පසුතලය සකස් කරන දෙයක් ලෝකයාට පැතිරෙනව නම්, ඒකෙන් එන ශාන්තිය අංශුමාත්‍රයකින් හරි ලෝක සත්වයාට අත්වුණොත්, ඒකාන්තයෙන්ම කවදාහරි ඔහුටත් නිවනට මග පෑදෙන්න හේතු

වෙනවා. ඒක තාවකාලිකව සසර මුළාවට පත්කරන ආස්වාදයක රඳවන දෙයක් නෙවෙයි. සදාකාලික දුකෙන් නිදහස් වෙන්න හේතුවෙන නිසා ඒක බෞද්ධයෙකුට සතුටු වෙන්න පුළුවන් දෙයක්. අන්න ඒ නිසා බොහොම වටිනවා. ඒ වගේම ඒක ප්‍රායෝගිකව වෙන්න පුළුවන් දෙයක් විය යුතුයි. ඒකෙන් මහා යහපතක් වුණා නම් ඒක ඥාන සම්ප්‍රයුක්ත සිතිවිල්ලක්. බෞද්ධයෙකුගේ භාවනාවක් ඒ ආකාරයෙන් වෙන්න ඕන.

උදාහරණ විදිහට ලෝක සත්වයා රාග ගින්නෙන් දැවෙනවා. එතකොට අපි ලෝක සත්වයාට වීතරාගී වෙත්වා, රාගයෙන් වෙන් වෙන්න ලැබේවා කියල පැතුවොත්, ඒක අපිටත් ලෝකයාටත් මහා යහපතක්. ඒ වගේම ද්වේශ ගින්නෙන් දැවෙන ලෝක සත්වයාට, ද්වේශයෙන් වෙන් වෙන්න ලැබේවා කියල පැතුව නම් ඒකත් මහා යහපතක්, ශාන්තියක්, නිවනට උපනිශ්‍රය වෙන දෙයක්. මෝහයෙන් මුළාවට පත්වෙලා දුක් විඳින ලෝක සත්වයාට ඒකෙන් වෙන් වෙන්න වීතමෝහී වෙත්වා කියල පැතුවොත් ඒකත් මහා යහපතක් සිද්ධ කරන්න පුළුවන් දෙයක්. ඒ වගේ සිද්ධ වුණොත් ඒකෙන් මහා ශාන්තියක් ලෝකයාට පැතිරිලා අපිටත් වීතරාගී වීතදෝසී වීතමෝහී වෙන්න අවශ්‍ය පසුතලය සකස් වෙනවා. ඒ මගින් තමයි ලෝක සත්වයාගේ කෙලෙස් ගිනි දුරුවීමෙන් ලැබෙන නිවී සැනසීම හෙවත් නිවන ලැබෙන්නෙ. ඒක තමයි අනාථ තත්වයෙන් මිදිල නාථ තත්වයට පත්වෙන්න හේතුවෙන්නෙ. ඒ නිසා ඒක ඥාන සම්ප්‍රයුක්ත සෝමනස්ස සහගත භාවනාවක් වෙනවා.

ඒ වගේම ලෝකයේ **හැමතැනම විවිධාකාරයෙන් විස තියෙනවා. මොකද ලෝක සත්වයා ලෝභයෙන් ද්වේශයෙන් මෝහයෙන් කටයුතු කරනකොට ලෝකයේ බාහිර ද්‍රව්‍ය වස්තු පවා ඊට අනුකූලව ප්‍රතික්‍රියා කරල හැඩගැහෙනවා. ඒකෙන් බිහිවෙන ලෝකයත් විස සහිතයි. එතකොට මුළු ලෝකයටම වීතරාගී වීතදෝසී වීතමෝහී ශාන්තිය විහිදේවා පැතිරේවා කියල පැතුවොත්, ඒ පැතීමෙන් විහිදෙන චිත්ත ශාන්තිය පවා බාහිර ලෝකයේ තියෙන විස කිරණ, විස දෝස කපන්න හේතු වෙනවා. අණවින කොඩිවින, හදි හූනියම් කියන්නෙත් ඒ වගේ බාහිර යමකට විස කිරණ කවල පතුරවන දෙයක්. එතකොට ද්වේශයෙන් මෝහයෙන් කරපු විස බලයක් ඒවායේ රැඳෙනවා. ඒ නිසා සියලු ලෝක සත්වයන්ටත් වීතරාගී වීතදෝසී වීතමෝහී වෙත්වා කියල පතන කොට, අර විදිහට රැඳිල බැඳිල තියෙන දෝස පවා කැපිල සුද්ධ වෙලා යන්න හේතු වෙනවා. මේ වගේ ලෞකික, ලෝකෝත්තර දෙපැත්තටම අභිවෘද්ධිය සලසන, ඒ සඳහා ගැලපෙන නිතර භාවිතා කරන්න පුළුවන් බොහොම පහසු කමටහනක්** තමයි ඉහතින් සටහන් කළේ.

368.<u>අමනුස්ස බලපෑම් දුරු වීමට</u>

**වාචඃ බහුත්‍රි කතඃ සුබමාහි දානං**
**සන්තෝ පදං සතඃ මතඃ රෝගඃ**
**හෝතඃ සබ්බ රෝගං විනාසඃ**
**භවතු භවතු බුද්ධේ ධම්මේ සංඝේ**
**අන්ත්‍රායං පමඃ**

යම් යම් අයට එන අමනුස්ස දෝස නිසා විකාරයෙන් කියවන, දොඩවන. බලාගත්ත අතේ බලාගෙන කල්පනා කර කර ඉන්න... එවැනි අවස්ථාවල, පැන් ටිකක් අතට හෝ භාජනයකට අරගෙන මේකෙන් 7 වරක් කියල පැන් ටිකක් බොන්න දීල මුහුණේ ගාන්න. 7 වරක් කියල දුරු වුනේ නැත්නම් 14 ක් හෝ 21 වරක් කියන්න. තමන්ටම හෝ වෙන කෙනෙකු ලවා හෝ කරගන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 99 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

<u>ශ්‍රම දායකත්වය</u>

■ පූජ්‍ය කිවුල්දෙනියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය ධම්මරතන හිමි ■ පූජ්‍ය අභයපුර මහින්දසිරි හිමි ■ පූජ්‍ය දික්බැද්දේ චූලරතනාලංකාර හිමි ■ පූජ්‍ය මොරගොල්ලේ ඉන්දසුමන හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ අතුල ජයතුංග මහතා - ඔරුවල ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ■ හේමාල් ඉන්ද්‍රජිත් වීරකෝන් මහතා - බණ්ඩාරගම ■ නිශාන්ත ජයලත් මහතා - සඳලංකාව ■ එච්. සෝමරත්න මහතා - ගිජිදාගම ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා - පොල්ගහවෙල ■ රණතිලක පද්ම බන්දු මහතා - මරදාන ■ අමිල සල්ගාදු මහතා - බෝමිරිය ■ ඩැනියෙල් වර්ණසූරිය මහතා - ගම්පහ ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

<u>මූල්‍යමය දායකත්වය</u>

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමී දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ශානක ද සිල්වා මහතා, වරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දෝහා කටාර් - රු. 29,640/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දැඳිගම මහත්මිය - ඇමරිකාව - රු. 24,080/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 20,000/- විමර්ශා සල්පගේ මෙනවිය - කිරිබත්ගොඩ- රු.17,840/- ■ සමන්ත දියෝගබඳු මහතා, ගයනි ජයවර්ධන මහත්මිය, නිම්භාන් දියෝගබඳු පුතා, ඕලාරා දියෝගබඳු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය, ඒ. ඩී රූපා පෙරේරා මෙනවිය - නුගේගොඩ - රු. 12,000/- ■ සිතිර නරසිංහ මහතා, අචනා ගුණරත්න මහත්මිය, තරුෂ නරසිංහ පුතා, මිහෙලි නරසිංහ සහ සෙනුලි නරසිංහ යන දියණියන් - පන්නිපිටිය - රු. 11,040/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ පාදුක්කේ විසූ පරලෝ සැපත් වැලිකන්නගේ ජයවර්ධන මහතාට සහ වැලිකන්නගේ එමා මහත්මියට පින් පිණිස සුජීවනී ජයවර්ධන මෙනවිය - රු. 10,000/-

■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,920/- ■ එරන්ද මලිගස්පේ මහතා, වෛද්‍ය නිලූපා ගස්පේ මහත්මිය, කිවේන් මලිගස්පේ පුතා - ඇමරිකාව - රු. 5,000/- අභිෂ්ක හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ නිමල් මහතා ඇතුළු පවුලේ සැම - වෑකඩ, පානදුර - රු. 5,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පවුලේ සැම - තිහාරිය - රු. 5,000/- පුලස්ති විරංග නාඔටුන්න මහතා - ඕස්ට්‍රේලියාව - රු.5000/- ■ ජී. ධර්මසේන මහතා සහ කරුණා ධර්මසේන මහත්මිය ඇතුලු පවුලේ සැම - හෝමාගම - රු. 5,000/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 4,460/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා, චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය සහ සෙතුකි දම්නාදි අමරසේකර දුව - රදාවාන - රු. 4,000/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,570/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,570/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,570/- ■ පූජ්‍ය රදාවානේ අනුත්තර හිමි, ඕස්ට්‍රේලියාවේ වෙසෙන සුජාන් කරස්නාගොඩ මහතා ඇතුළු පවුලේ සැම - රු. 3,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ මනෝජ් ජයසූරිය මහතා ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 3,000/- ■ ජේ. එම්. ඒ. බණ්ඩාර මහතා, වී. එස්. ජයතිලක මහත්මිය, ජේ. එම්. ඕ. නවින්දයා බණ්ඩාර දුව - නුවර - රු. 3,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, චමිල ඉලංගකෝන් මහතා ඇතුලු පවුලේ සැම - හෝකන්දර, සුමුදු විද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - රද්දොළුගම - රු. 2,500/- ■ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,500/- ■ එච්. එස්. අරම්පොල මහතා ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 2,500/- ■ ශ්‍රීනාත් සෙනෙවිරත්න මහතා - අත්තනගල්ල- රු.2,250/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 2,000/- ■ සෙනරත් බස්නායක මහතා, බී.ඒ. වීරසේන මහතා, හසිත කසුන් බස්නායක පුතා, ජනුධ කුසල් බස්නායක පුතා, අනුරිකා වීරසේන මහත්මිය - යක්කල - රු. 2,000/- ■ සුදන්ත සූරියබණ්ඩාර මහතා සහ ඉරේෂා සූරියබණ්ඩාර මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 2,000/- ■ එන්. ජී. ජයතිලක මහතා සහ එන්. ජයතිලක මහත්මිය - මහනුවර - රු. 2,000/- ■ සුනීතා බුලත්සිංහල මහත්මිය - ඕමානය - රු. 2,000/- ■ ඒ. ඒ. වින්දයා නිර්මාණි දුව - රදාවාන - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 1,500/- ■ ඩබ්. එම්. විජේසූරිය බණ්ඩාර මහතා සහ දිලානි දීපිකා බණ්ඩාර මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 1,500/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ තිලකසිරි ජයරත්න මහතා, රොෂාන් මාලක මහතා, චතුරානි ඉන්දිකා මහත්මිය, හිමාෂා සේමිණි දුව, තිනෙත් හිමංජය පුතා - පස්යාල - රු. 1,200/- ■ මහේෂ් මහතා හර්ෂණා මහත්මිය -මීගමුව- රු.1,200/- ■ උපුල් ජයරත්න මහතා සහ ගිහානී ජයරත්න මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 1,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ කේ. පී. ගුණදාස මහතා - ගලපිටමඩ - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ නිලන්ති දාබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ ලලනී ජයරත්න මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය ඇතුළු පවුලේ සැම - උළුවිටිකේ, ගාල්ල - රු. 1,000/- ■ පැතුම් ශානුක ලොකුගේ මහතා - පාදුක්ක - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ ඒ.දිලාන් නුවන් පුතා- ස්කොට්ලන්තය රු 1000/- ■ එම්. සමන් දසනායක මහතා, සුජාතා සමරකෝන් මහත්මිය, එම්. අස්විනී දසනායක මෙනවිය පිලියන්දල-රු.1000/- ■ රුචිනි අල්විස් මහත්මිය, නුවන් ඉන්ද්‍රජිත් මහතා- ගොඩගම - රු.1000/- ■ පී. ඒ. ආරියතිලක මහතා - දකුණු උඩුව - රු.1000/- ■ පී. ජී යූ. සඳකැළුම් මහතා - මල්ගල්ල - රු.1000/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය -වේයන්ගොඩ - රු.1000/- ■ විමල් පෙරේරා මහතා -බොක්කාවල, මහනුවර- රු.1000/- ■ ජයනාත් සුබසිංහ මහතා, දුලීකා වත්සලා ගුණවර්ධන මහත්මිය -හෝමාගම - රු.1000/- ■ චතුරංග බණ්ඩාර මහතා, බණ්ඩාර මහතා, ඉන්ද්‍රානි රත්නායක මහත්මිය - කළුතර - රු.1000/- ■ ඩබ්. ඒ.රත්නසිරි මහතා - හොරම්පැල්ල - රු.1000/- ■ පී. ඒ. සිරියාවතී මහත්මිය ඇතුළු පවුලේ සැම - රු.1000/- ■ ධනපාල විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - මහනුවර - රු.1000/- ■ උදිත ලක්ෂාන් පෙරේරා මහතා, ඩග්ලස් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු.1000/- ■ ඉසුරි චම්පිකා මහත්මිය - බොරලැස්මුව - රු.1000/- ■ වොනාල් මාරසිංහ මහතා - නාවින්න - රු.1000/- ■ චාන්දනී සමරකෝන් මෙනවිය - කන්තලේ - රු.1000/- ■ චාමලී ප්‍රියංගිකා මහත්මිය - අතුරුගිරිය - රු. 1000/- ■ උපුල් විජේනායක මහතා ඇතුළු පවුලේ සැම - මාවනැල්ල, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ, පද්මා පෙරේරා මහත්මිය - පිටකෝට්ටේ, පී.ආර්. චන්ද්‍රා ජයවර්ධන මහත්මිය - බටුපිටිය, බුද්ධික නුවන් ජයලාල් මහතා - ලෙනගල, කේ.ඒ.ඊ.දහම්සා සඳනෙතු, කේ.ඒ.ඊ තුලසි මිහිමුතු, කේ.ඒ.ඊ මනුලි නිල්මෙතු දරුවන්, සුමිත්‍රා හපුආරච්චි මහත්මිය - රදාවාන, ලලිතා ජුලියට් මහත්මිය - මාහොලුව, පී. ස්වර්ණා පෙරේරා මහත්මිය - තිහාරිය - එකතුව - රු. 4,550/-, ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 409,590/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 13,874/- ■ සම්පූර්ණ වියදම - රු. 409,124/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු . 27.27/- ■ සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

## පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com  webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 0775003411/ 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන, 4 වන සහ 5 වන සෙනසුරාදා භාවනා වැඩසටහන පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව – රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

### හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ දේශීය ස්ටෝර්ස්, ලංකාදීප අලෙවි නියෝජිත, හපුතලේ පාර, වැල්ලවාය - 0775532694, 0718375871 ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිදිවැල - 071 0118101 ■ කුමාරි අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 0786949860 ■ පෝලර් රීජන්ස්, 402 සී, ගාලු පාර, පානදුර- 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මීද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ ශ්‍රීපති පික්චර් පැලස්, අවිස්සාවේල්ල පාර, නවගමුව - 0717360875, 0718375871 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 066 2244061 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871 ■ සඳමිණි පූජා භාණ්ඩ, කුලියාපිටිය පාර, දුම්මලසූරිය - 077 4430223

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# ලොව නින්දා නොලබන්නෙකු නැත









සැවතෙහි අතුල නම් දැරු මහ උවසුවෙකි
ඇසුරෙහි විසුව සිය ගණනක පිරිවරකි
දහමෙහි පැහැද සිල් ගුණ නොමඳව සුරැකි
පිරිසෙහි සැවොම බණ ඇසුමෙහි ලැදි බවකි

සැම සත සිත නිවන බුදු බණ අසන නියා
හිමි වෙත රහත් රේවත මෙම පිරිස ගියා
තම සිත දැහැන් ගත කර හිමි දෙනෙත පියා
සම වත සුව විඳිති සිත අරමුණක තියා

බැබලුව සිය නැණින් සම්බුදු සසුන් කෙත
දෙවනුව පැමිණ සැරියුත් මහ තෙරුන් වෙත
පැවසුව බණ දහම ගැන ඇති පහන් සිත
පැතිරුව මොවුන් වෙත හිමි මුළු හදින් මෙත

දිගු බණ වරක් හිමි දෙසු ඇරයුම පරිදී
වැටහුන බවක් නැත බණ ගැන නැත පැහැදී
එබැවින අනඳ හිමි හමුවට ගිය විටදී
බුදු බණ ඇසු නමුදු සිත නොම විය අවදී

අවසන මෙම පිරිස බුදු හිමි වෙතට ගියා
සිදු වුන තතු කියති නොසතුට සිතෙහි තියා
බුදු බණ අසන ලෙස රේවත සමිඳු සොයා
බැතියෙන ගියෙමු හිමි දැහැනක දෙනෙත පියා

දම් සෙන් පති සැරියුත් තෙරිඳු හමුවුනේ
ගැඹුරින් දෙසුව බුදු බණ නොමැත වැටහුනේ
එබැවින් අනඳ හිමි හමුවටය පිවිසුනේ
කෙටියෙන් දෙසු දහම මදි අපට හිමියනේ

පසු වුව නිහඬ ලෙස එහි ඇති දොස දකිති
දිගු වුව දෙසුම කෙටි වනු යහපති සිතති
කෙටි වුව එම විටද නොසතුට පළ කරති
බුදු වුව මටද දොස් පවරන අය සිටිති

නින්දා කෙරුම පැසසුම පෙර සිට පවතී
නින්දා නොලද අය මෙම මිහි පිට නොමැතී
නින්දා විඳිනු රිසි වෙද කිසිවෙකු ගුණැතී
නින්දා කෙරුම නොසරිය සත හට පිනැතී

විමසා බලනු කෙනෙකුට ගරහනු පෙරදී
ඉවසා දත යුතුය තොරතුරු හරි වැරදී
නොඅසා එලෙස හැම විට සැකයට ඉඩදී
පවසා නුගුණ කුමටද පර හට දුකදී

නුවණින් නිසි කරුණු විමසා බලන විට
සැබවින් පෙනේ කවුරුද යුතු පැසසුමට
ඒලෙසින් දකිත හැක යුතු අය ගැරහුමට
මැනවින් දැන වසනු එය සුවයකි සිතට

(ධම්ම පදය - ක්‍රෝධ වග්ගය ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# සියලු සතට නිවනයි අවසන් සරණ

නොතිර සරණ ලොව අනතෙහි ලැබුණ   මිස
සතර අපා දුක නම් ඇත තිබුණ   ලෙස
නිතර පෙලෙන සිත කය දෙක එහිම   බැස
එතෙර විය නොහැක නැතිනම් දහමෙ   ඇස

ගිනි ගත් සිත් සතන් ඇත ලෝ සතුන්   හට
එනමුත් නොවැටහෙයි විට අවිදුවෙන්   වට
මැරුණත් මෙකය හැර දේපල රකින්   නට
බලවත් සිතක් එයි නැත ඉඩ නිවෙන්   නට

දියෙන් ගොඩට ගත් මාලුන් ලෙස   ගැහෙන
ගමන් කරන කටයුතු වෙහෙසකි   දැනෙන
නිවෙන්නට තියෙන කාලය ගිල   දැමෙන
එවන් දෑහි නියැලෙයි සත තුරු   මැරෙන

දෙව් බඹ ලොව වුනත් ආයුස   කෙලවරදී
පව් එල දෙවයි කළ කම් ඇදි විට   පෙරදී
කිව් කළ දෑ සුවයි කියමින් සිට   නොරැඳී
සිව් මහ අපා බය එන විට වැඩ   වරදී

සැරි සැරුම නතර කළ විට සරණ   ඇත
අරි මගෙහි මිසක් එය වෙන තැනක   නැත
බැරි දෙයක්ම පවතන්නට හැදුව   සත
හරි දෙයක් නෙවෙයි ලැබුණේ ලෙසට   සෙත

පිළි සරණට අරන් තෙරුවන් ගුණ   කන්ද
මැලි නොමවන් බිඳින්නට තුන් දොස   බැන්ද
එළි වෙන විටදි යන්නට පෙර පණ   කෙන්ද
ඇලි ඇලි නොසිට ගොඩ යනු ලොව නොම   රන්ද

තමන් විසින් කර ගත යුතු දෙයක්   ඇත
අනුන් හට ඔබව නිවනට මගක්   නැත
එවන් දහම ඇසුනොත් ලැදි සිතක්   වෙත
ගමන් කරනු හැරදා ඇති නොයෙක්   මත

දියත තුල ලැබුව මුත් අනතෙහි   සරණ
නියත ලෙසම ගෙවිලා ඒ රැක   වරණ
නොයත කිසිත් එන විට කෙලවර   මරණ
සොයත තවත් දෑ පෙර ලෙසටම   දරණ

නිවනින් මෙපිට අන් සරණක් නැත   සතට
යනුවෙන් බුදුන් වදහළ දම ගෙන   සිතට
නොයමින් ගමන් ලෝ සත හැම යන   අතට
නිවෙමින් පතුර වනු අරි මෙත ලොව   වෙතට

තුන් සරණයි නිවෙන්නට පිහිටට   එන්නේ
ඉන් එල නෙලනු නැත බොහො කල   පවතින්නේ
දන් පින් වරම ලද විට මැලි නොම   වන්නේ
අන් සත නොලද වරමකි මේ ලැබ   ඉන්නේ

දෙසුවට ලොවේ නෙක ආගම් සුවය   ගැන
භවයට හිරව වෙහෙසකි ඒ සියලු   තැන
වෙහෙසට පත් නොවී සදහට සුවය   දෙන
නිවනට එකම දහමයි මුනි දෙසුව   බණ

නොකල් බොහෝ ඇත සිරි සදහම   නොවන
එකල් එන්න පෙර කර ගනු තිර   සෙවණ
දවල් රෑ දුවන වෙහෙසින් දිවි   ගෙවන
සියල් සතට අවසන් සරණයි   නිවන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1099 RS.25.00
HELA BODHU PIYUMA 99

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.